සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2561 ක් වූ දුරුතු මස (ව්‍යවහාරික වර්ෂ 2018 ජනවාරි)

76 වෙනි කලාපය



## චෛතිය පූජාවේ අනුසස්



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-









# කුමර කසුප් මහ තෙරිඳු

පදු මුත්තර මුනිඳු වැඩ සිටි කල පොරණ
ඇදු රෙකු බමුණු ඇති වේදය දැන උගෙන
බුදු හිමි හමුවෙ දහමෙහි ගුණ තෙද හැඳින
පිදු මහ සඟන වෙත දන් පැන් බැති පෙමින

විය සඟ නමක් සදහම් දෙසුමෙහි හසළ
එය ගරු කොට පිදුනි එහි තනතුර ඉහළ
මෙය දුටු බමුණු තෙම වැඳ මුනි පද කමල
සිය පැතුමද එයයි ඇසු එය වෙද සපල

ඇල් මෙනි යුතුව බණ දහමට ලැදිව හිඳ
කල් මෙහි ගෙවා මොහු දෙව් ලොව උපත ලද
මුල් වන මෙහිදි සසරෙහි පෙර හුරුව ලෙද
සිල් ගුණ පිරි ළඳකි රජගහ විසුව සොඳ

මැය සිටු දුවකි දහමට ගත සිත දැවටු
බිය ඇත සිතෙහි නැත යුග දිවියට සතුටු
පිය සිටු තුමා සිත දැඩි මතයක පිහිටු
සිය අදහසට දුනි ඇය දීගෙක අනිටු

වැඩි කල් නොයා සිය සැමියගෙ සිතැඟි දිනා
මෙම සිල් සපිරි ළඳ සසුනෙහි පැවිදි වුනා
සුවි සල් බියකි එනමුදු දුක කඳුල ගෙනා
දරු මල් කැකුළක්ය කුස නැත සිහිය මනා

දස මස පිරුනි මැය හට දරුවෙකු ලැබුනි
අප හස නොයෙක් දෙන පවසනු කන වැකුනි
එවිගස බුදු හිමිට මෙ පුවත සැළ කෙරුනි
තතු ලෙස කරුණු සෙවුමට තිදෙනෙකු යැවුනි

විසාකාව සහ හෙදියක අත හිතදී
උපාලි මහ තෙරිඳු මුල් වී ඈත මෙහිදී
එසේ දරු ගැබක් පිහිටියෙ ගිහි කලදී
සොයා ගැනුනි එම තතු සැක හැර පැහැදී

කවර දුකක් වෙද අසරණ මෙහෙණිය ට
එවර කොසොල් රජු එ කරුණ මෙනෙහි කොට
සසර පිනැති කුමරෙකි ගෙන දරුකම ට
කුමර කසුප් නම තැබු මෙම කුමරු හට

වෙසෙස් නැණැති බමුණෙකු ලෙස පෙර විසුව
මෙලෙස් කසුප් කුමරුව ඉපදුනි පසුව
කෙළෙස් බිඳැර සසරෙහි කළ පින මුසුව
දොළොස් විය පිරුන කල භව දුක නැසුව

රහත් බව ලබා හිමි පිඬු සිඟා යති
එහෙත් මව් මෙහෙණි මග ඵල ලබා නැති
මහත් සෙනෙහසින් පුතු දැක හඬා එති
පිනැත් තියෙනි සිත රැක ගනු ඔවා දෙති

(කුමාර කාශ්‍යප ථේරාපදානය ඇසුරෙනි)
පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා



# කළ යුතුම දේ සහ නොකළ යුතු දේ ?

**මහා පිරුවානා පොත් වහන්සේ ඇසුරින් නිවන් මග - 03**

සත්වයින් වාසය කරන තිස් එක් තලයෙන් අපිට පේන්නෙ ඉතාමත් අල්ප කොටසක් බව පසුගිය කලාපයෙන් පෙන්වා දුන්නා. මේ දකින තිරිසන් ලෝකයේ අපි දකල තියෙන්නෙ මොනවද? ඒ ඒ සත්වයාට ආවේනික ආහාරයක් හොයාගෙන කනවා. ඒ ඒ පුරුදු කරගත්ත තැන්වලට හැන්දෑ වෙනකොට ඇවිත් නිදා ගන්නවා. තමන්ගෙ පරපුර ගෙනියන්න පැටව් හදනවා. බිත්තර දාන සමහර සත්තු බිත්තර රකිනවා. සමහර සත්තු බිත්තර රකින්නෙවත් නෑ. බිත්තර රකින සත්තු බිත්තර රැකල පැටව් බිහි වුනාම, පැටවුන්ට ආහාර ගෙනත් දීල තරමක් වැඩෙන කල් ආරක්ෂා කරනවා. සමහර සත්තු ඉපදෙන තමන්ගෙම පැටව් ගිල දමනවා. සමහර සත්තු තරමක් වැඩුන පැටවුන්ට ආහාර හොයාගන්න හැටි උගන්වල නිදහසේ යන්න ඉඩ අරිනවා.

මනුස්සයින් අතරෙත් මේ විවිධත්වය තියෙනවා. ආහාර ගැනීම කාටත් පොදුයි. පුළුවන් වත්කමේ හැටියට ආහාර වර්ගය වෙනස් වෙනව විතරයි. ඒ ඒ පුරුදු තැන්වලට හැන්දෑ වෙනකොට ඇවිත් නිදාගැනීමත් කරනවා. තමන්ගෙ පරපුර ගෙනියන්න දරුවන් හැදීමත් කරනවා. ඒ දරුවන්ව සමහර දෙමව්පියො ආරක්ෂා කරනවා. ආහාර පාන, වස්ත්‍ර... ආදියත් සපයනවා. ජීවත් වෙන්න රැකියාවක් හොයා ගන්නත් උදව් කරනවා. කලාතුරකින් අර සත්තුන්ගෙ සංඛාර වඩන අය දරුවන්ට හිංසා පීඩා කරනවා, වහල්කමට යවනවා, විවිධ අසම්මත වෘත්තීන්වල යොදවනවා. හොඳින් හිතල බැලුවොත්, මූලික වශයෙන් මේ මනුස්සයින් වඩන්නෙත් තිරිසන් සත්තු වඩන්නෙත් එකම සංඛාර. ඒ තමයි ආහාරය, නින්ද සහ කාම මෛථුනය.

මනුස්සයා තිරිසනාගෙන් වෙනස් වෙන්නෙ උපතට හේතුව වෙනස් නිසා. මනුස්සයෙක් වෙලා උපදින්නෙ ඒකාන්තයෙන්ම කුසල විපාකයක් නිසා. තිරිසනෙක් වෙලා උපදින්නෙ කරපු අකුසලයක විපාක ගෙවන්න. තිරිසනත් මනුස්සයත් අතර වෙනසක් තිබිය යුතු බව මේ කාරණාවෙන් තේරුම් ගන්න ඕන. නමුත් කුසල විපාකයකින්, මනුස්සයින්ට තිරිසනෙකුට වඩා උසස් අත්බැවක් ලැබිලත්, වඩන්නෙ තිරිසන් සංඛාර නම් ඊළඟ අත්බැව දුගතියක් වෙන බව පැහැදිළියි. මේ මනුස්සයින්ගෙන් මරණයෙන් පස්සෙ සුගතියකට යන්නෙ නිය පිටට ගත් පස් ටිකක් තරම් ස්වල්පයක් බවත්, මහ පොළොවේ පස් තරම් වැඩි පිරිසක් යන්නෙ සතර අපායට බවත් බුදු පියාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඇහැට පේන්න තියෙන තිරිසන් ලෝකය ගැන පැහැදිලි කරන්න පහසු නිසා උදාහරණයට ගත්තත්, මේ ලෝකෙ ජීවත්වෙන වැඩි පිරිසක් වඩන්නෙ සතර අපාගත සත්වයින් වඩන සංඛාර.

අපි හොඳට ඉගෙන ගෙන ලොකු රැකියාවක් කරනවා. වෘත්තීය අයිතිවාසිකම් දිනා ගන්නවා. ඒවාට වෘත්තීය සමිති හදාගෙන ඇප කැප වෙලා කටයුතු කරනවා. බොහෝ දෙනෙකුට යහපතක් කළා කියල උද්දාම වෙනවා. රෝහල්වලට ගිහින් අඩුපාඩු සොයා බලල ආධාර උපකාර කරනවා. පාසැල් දරුවන්ට අඩුපාඩු සොයා බලල ආධාර උපකාර කරනවා. මේ කොයිකත් නරක නෑ, ඉතාම හොඳ වැඩ. ඒවත් කළ යුතුයි. නමුත් මනුස්ස වෙලා ඉපදිලා කරන්න තියෙන වැදගත්ම කටයුතු, වටිනාම කටයුතු අත්හැරල, ඒ කරන්නෙ පොඩි පොඩි කොටස් ටිකක් විතරයි. ඒවායේ වටිනාකම තියෙන්නෙ මේ ජීවිතේ පවතින අවුරුදු 60 - 70 ක් වගේ කෙටි කාලයකට විතරයි. නැත්නම් ආයතනයක් පවතින කෙටි කාලයකට විතරයි. ලොකු පොඩි නිලතල අරගෙන ලෝක සම්මත යහපත් දේවල් කරල අනිත් අයට උපකාර කළාට, තමන් මැරුණම යන තැන ගැන දන්නෙත් නෑ, හිතන්නෙත් නෑ.

කෙටියෙන්ම කිව්වොත්, තමන් ඉන්න තැන, තමන්ගෙ වැඩේ දිහා බලන්නෙ නැතුව, තමන් මහා ප්‍රපාතයක ගැට්ටෙ ඉඳගෙන අනිත් අයට උදව් කරනවා. ලෝක සම්මතයේ හැටියට නම් මේ අය හුඟක්ම පරෝපකාරය කරන පිරිසක්. නමුත් අනන්ත සංසාරෙ කරල තියෙන්නෙත් මේව නම්, තවමත් සසර දුක් විඳින්නෙ ඒ අසාර්ථක වැඩ පිළිවෙලින් තමන්ට විමුක්තියක් ලැබිල නැති නිසා නේද කියල වැටහෙන්න ඕන. තමන්ගෙ වැඩේ කරගන්න ගමන් අනිත් අයටත් උදව් කරන්න කියන එකයි මේ පැහැදිලි කළේ.

පංච කාම වස්තූන් වටිනා හරවත් දේවල් හැටියට සළකගෙන ඉන්න ලෝකයා, කාම වස්තුවක් අහුවුන ගමන් ආස්වාදයෙන් මත්වෙනවා. ඒකාන්තයෙන්ම කුසල විපාකයක් හැටියට ලැබුන අති දුර්ලභ මනුස්ස ජීවිතය ගත කරන්න ඕන කොහොමද කියන සැලැස්මක් හදාගන්නෙ නැතුව, පැණි හැළියට වැටුන ඇඹලයා වගේ අන්තිමට මැරෙනවා. කරණීය මෙත්ත සූත්‍රය කියන්නෙ මෙන්න මේ තත්වය වෙනස් කරල ජීවිතයට නිෂ්ඵල දේ මේවයි, ප්‍රයෝජනවත් දේ මේවයි, කළ යුත්ත මේකයි, නොකළ යුත්ත මේකයි කියල තෝරා බේරාගෙන, ළමා කාලයේ ඉඳලම නිවන් මඟින් බැහැර නොවී ඒ කටයුතුවලටත් යම් කිසි කාල පරිච්ඡේදයක් වෙන් කරගෙන ජීවිතය සකස් කරගන්න, සක්කයෙක් වෙන්න වැඩ පිළිවෙලක් දේශනා කරපු සූත්‍ර දේශනාවක්. යම් කෙනෙකුට වැටහෙනව නම්, නැවත නැවත ඉපදෙමින් දුක් විඳින මේ ජීවිතය අසාරයි කියල ජාති, ආගම්, කුල බේද නැතිව ඒ හැම දෙනාටම මේ වැඩ පිළිවෙල ජීවිතයට එකතු කරගැනීමෙන් සඳහටම සසර දුකෙන් නිදහස් වෙන්න පුළුවන්. නහිජාතු ගබ්බ සෙය්‍යං පුනරේතීති... කිව්වෙ ඒකයි. ඒ කියන්නෙ නැවත ගැබකට හෙවත් ගර්භාවාසයකට එන්නෙ නෑ කියන එක.

පිරුවානා පොත් වහන්සේ තුළ <u>කරණීය මෙත්ත සූත්‍රය</u> වශයෙනුත්, ඛුද්දක නිකායේ 2 වෙනි කාණ්ඩයේ 44 පිටුවේ, <u>මෙත්ත සූත්‍රය</u> වශයෙනුත් නම් කරල තියෙන මේ සූත්‍ර දේශනාව ආරම්භ වෙන්නෙ "කරණීයමත්ථ කුසලේන..." කියල. දේශනාව අනුව පද වෙන් කරල බැලුවම කරණීයම + අත්ථ + කු + සලේන. "කු" කියන පහත් දේවල් සලා හරින්න. අත්ථ කියන්නෙ නිවන. **නිවන සඳහා, පහත් දේවල් සලාහරින වැඩ පිළිවෙල ඇතුලත්වන දේශනාව තමයි කරණීය මෙත්ත සූත්‍රය කියන්නෙ. සියලු ලෝ සතුන්ට මෙත් වැඩීමත් ඒකට අයිතියි.** මේ සූත්‍ර දේශනාවෙ අටුවාව, ඒ කියන්නෙ දේශනාවට මූලික වුන කාරණයෙන් කියවෙන්නෙ මේකයි. භික්ෂූන් වහන්සේලා පිරිසක් කමටහන් අරගෙන වස් වසන්න ගිය එක්තරා වනයකදී, ඒ වනයේ හිටපු වෘක්ෂ දේවතාවන්ටත්, ප්‍රේත භූතාදීන්ටත් තමන්ගෙ වාසස්ථානවල ඉන්න අපහසු වුනා. මොකද ඒ භික්ෂූන් වහන්සේලාගේ පුණ්‍ය මහිමය නිසා. ඒ නිසා භික්ෂූන් වහන්සේලා පලවා හරින්න ඔවුන් විවිධ භයංකාර ශබ්ද ඇති කළා. ඒ භික්ෂූන් වහන්සේලාට ඇති වුන බාධා කරදර දුරු කරගන්න, මේ දේශනාව නිතර සජ්ජායනා කරන්න කියල බුදුන් වහන්සේ උපදෙසක් දුන්නා.

මේ සූත්‍ර දේශනාවෙන් පෙන්වා දෙන්නෙ නිවන් දකින වැඩ පිළිවෙලක්. නිවන් සුවයට පත් වෙන්න ඕන නම් ඒ අය කරන්න ඕන මොනවද? නිවන් දකින්න පුළුවන් කාටද? යම් කෙනෙකුට නිවන් දකින්න බැරි වෙලා නම්, එහෙම වෙලා තියෙන්නෙ මොකක් නිසාද? අනේ ඒ දුක්ඛිතයන්ට සත්‍යය වැටහේවා! දුකින් මිදෙත්වා! මේ මේ වැරදි වැඩ නොකරත්වා! සතර ඉරියව්වේම මේ බ්‍රහ්ම විහාරයෙන් වාසය කරත්වා!... මේ ආදී වශයෙන් කියල නිතර නිතර සජ්ජායනා කරන කොට ඒ වෘක්ෂ දේවතාදීන්ට තමන්ගෙ අඩු පාඩුව වැටහුනා. මේ අය අපට කරදර කරනව නෙවෙයි, හොඳ ගුණවත් පිරිසක් කියල තේරුම් අරගෙන, ඒ භික්ෂූන් වහන්සේලාට කරදර කරන එක නතර කරල, උපස්ථාන කරන්න පවා පෙළඹුන බව ධර්මයේ සඳහන් වෙනවා.

යම් ඒ ශාන්ත පදය යයි කියන්නා වූ නිවනට පැමිණ වාසය කිරීමට කැමති වේ නම්, (අභි + සම + ඉච්ඡ) ඒ අර්ථය (නිවන) පිණිස කළ යුතුම දේවල් මොනවද? "නිවනට පැමිණ වාසය" කිව්වම, මේ පැමිණීම කියන්නෙ යම් ස්ථානයකට නෙවෙයි. මනස පිහිටුවා ගත යුතු ආකාරයක්. නිවුන මනසකින් ජීවත් වීමක්. ලෝකෙ අනිත් අය වගේම එදිනෙදා අත්‍යවශ්‍ය වැඩ කටයුතු කරගෙන ජීවත් වෙනවා. නමුත් මානසික ස්වභාවය රාග ගින්නෙන්, ද්වේශ ගින්නෙන්, මෝහ ගින්නෙන් දැවෙන්නෙ නැති නිවුන මනසක්. ඉතින් මේ ධර්මය දේශනා කරන්නෙ නිවන් දකින්න කැමති අයට. සමහර කෙනෙක්ගෙන් ඇහුවම නිවන් දකින්න කැමතිද කියල, කොච්චර වටිනවද, මම නම් කැමතියි කියනවා. ඒ වුනාට හොඳ ධර්ම සාකච්ඡාවක් තියෙනවා, අහන්න යමු කිව්වොත්, අපොයි අද නම් බෑ, මේ මේ වැඩ තියෙනව කියනවා. විවිධාකාර හේතු කියනවා. ඒ වගේ අයට මේ දහමින් කිසි ප්‍රයෝජනයක් ලබන්න බෑ. හිතට එකඟව, අවංකවම, මේ සසර ගමන අසාරයි දුකයි කියල වැටහිලා, අනේ මේ දුකෙන් මිදෙන්න ඇත්නම් කොච්චර හොඳද කියල නිවන හොයන කෙනෙකුටයි මේ සද්ධර්ම දේශනාව වටින්නෙ.

පළවෙනි කාරණය "සක්කෝ...", සක්කයෙක් වෙන්න. සක්‍ර දෙවියන්ටත් සක්ක කියනවා. සක් දෙවිඳුන්ට ඒ නම ලැබුනෙ සකසා දන් දීම, සකසා වත් පිළිවෙත් කිරීම... ආදී වශයෙන් පිළිවෙලට පිරිසිදුවට සකස් කළ දෙයින් ඒ දේවල් කළ නිසා. සකසුරුවම්කම කියලත් වචනයක් තියෙනවා. ඒකෙ තේරුම නාස්ති නොකර, අවශ්‍ය පමණට, අවශ්‍ය දේවල් යොදා ගන්නවා කියන එක. යම් දෙයක් කරන කොට ඒක වැදගත් වැඩක්ද, නොවැදගත් වැඩක්ද, යහපතක් වෙන දෙයක්ද, අයහපතක් වෙන දෙයක්ද කියල තෝරා බේරාගෙන, වැදගත් යහපත් වැඩක් නම් ගැලපෙන විදිහට ක්‍රමානුකූලව, අනවශ්‍ය වියදම් නැතුව, පිරිසිදුවට අවංකව ඒ දේ කරනවා. අන්න ඒ විදිහට වැඩ කරන කෙනෙකුටයි සක්කයෙක් කියන්නෙ.

සක් පිඹිනව කියල දෙයකුත් අපි දන්නවා. සක් කිව්වෙ හක් ගෙඩියට. සක්කෝ කියන එක උපමාවකින් පැහැදිලි කරනවා, හක් ගෙඩියක් වගේ පිරිසිදු සුද්ධ හඬක් නිකුත් කරන කෙනෙක් වෙන්න කියල. මනුස්සයා අසුද්ධ වෙලා තියෙන මුල දකින්න ඕන. පස් පව්, දස අකුසල් කරලයි අසුද්ධ වෙන්නෙ. මුල දුක්කම මුලට හේතුවත් දකිනවා. අවිද්‍යාව නිසා ලෝකයේ ආස්වාදයක් සොයමින්, තණ්හාවෙන් ඒක ලබා ගන්න දස අකුසල් කරනවා, කරවනවා, අනුබල දෙනවා, වර්ණනා කරනවා. මුල නැති කිරීම කියන්නෙ පස් පව් දස අකුසල්වලින් වෙන්වීම. එතකොට ලෞකික සුගති මාර්ගයට එනවා. ඉන්පසු අවිද්‍යා, තණ්හා මුල නැති කිරීම හෙවත් රාග, ද්වේශ, මෝහ කියන අකුසල් දුරු කිරීම මගින් ලෝකෝත්තර මාර්ගයට එනවා. ඒකට සද්ධර්ම ශ්‍රවණය කරල, ලෝකයේ ආදීනව දැනගෙන අවිද්‍යාව දුරු වෙන්න ඕන. එතකොට විද්‍යාව පහළ වෙනවා. දස අකුසල් පහත්



දේවල් හැටියට වැටහෙනවා. ඒ වගේම ලෝකෝත්තර මාර්ගයෙදි අවිද්‍යා, තණ්හා පහත් දේවල් විදිහට සළකනවා. 'කු' කියන පහත් දේවල් සලා හැරීමට කුසලේන කියනවා. නිවන නමැති අර්ථය ලබා ගන්න කළ යුතුම දේ " කරණීය මත්ත කුසලේන" කියල මුලින්ම දේශනා කරල තියෙන්නෙ ඒකයි. දස අකුසල් සලා හරින කොට වචනයෙන් කෙරෙන අකුසල්, මුසාවාද, කේළම්, පරුස වචන, හිස් වචන කීමෙන් වෙන් වෙනවා. එතකොට සත් බස කියන සුද්ධ හඬක් තමයි වචනය වෙන්නෙ.

ගල් වැටි බඳින කොට සක්ක ගල් කියල කුඩා ප්‍රමාණයේ ගලුත් යොදා ගන්නවා. නියම හැඩයක් නැති ලොකු ලොකු ගල් පිළිවෙලකට අසුරන කොට ඇතිවෙන හිඩැස් පුරවන්නෙ කුඩා සක්ක ගල්වලින්. ගල් වැටිය නොපෙරළී හිටින්න, පහතට නොවැටෙන්න ඒ පුංචි ගල් උපකාර වෙනවා. ඒ වගේ සසර ගමනෙදි සතර අපාය ආදී පහළට නොවැටෙන්න, සව්මත්ව නැගී හිටින්න උපකාර වෙන විදිහට තමනුත් ජීවත් වෙන්න ඕන.

අද සක්කෝ කියන එක තෝරල තියෙන්නෙ දක්ෂයෙක් වෙන්න ඕන කියල. දක්ෂයෙක් නම් දක්ඛෝ වෙන්න ඕන. දීඝ නිකායේ 2 වෙනි කාණ්ඩයේ, 439 පිටුවේ එන මහා සති පට්ඨාන සූත්‍ර දේශනාවේ, "සෙය්‍යථාපි භික්ඛවේ දක්ඛෝ භමකාරෝවා..." ආදී වශයෙන් දක්ෂ වූ ලියන වඩුවෙක් හෝ... කියල සඳහන් වෙනවා. දක්ඛෝ කියන්නෙ දක්ෂ කියන තේරුම බව එතනදි පැහැදිලියි. **අහසෙ පියාසර කරන කුරුල්ලෙකුට එල්ල කරල විදල මරන්න පුළුවන්කම කියන්නෙ, ලෝක සම්මතයේ ඉන්න අය සම්මාන දෙන විශිෂ්ඨ දක්ෂකමක්. ඒත් එතනදි සිද්ධ වෙන පර පණ නැසීම, බොහෝ කල් නරකයේ දුක් විඳින්න සිද්ධ වෙන, ආයුස හීන වෙන, දුක් විපාක ගෙනත් දෙන අකුසලයක්.** කෝටි ගණනක් ජීවිත එක මොහොතකින් විනාස කරන්න පුළුවන් මිසයිල, න්‍යෂ්ටික අවි හදන්නෙත් ඒවාට දක්ෂ අය. ඒවා නිවන් මග අවුරන පාප දුෂ්චරිත. **ඒ නිසා දක්ෂයෙක් වෙලා අපාගත වෙන්නත් පුළුවන්. සක්කයෙක් වුනොත් නිවන් දකින්න පුළුවන්.**

උජුව කියන්නෙ ඍජු භාවයට. මෙතන සිංහල තේරුම කියල දීල තියෙන්නෙ සංස්කෘත වචනයකින්. "උජුං කායං" කියල සඳහන් වෙන්නෙ කය කෙලින් තබා ගැනීමට. "ඇද නැති බව" කියන සිංහල තේරුම ගත්තම උජුව කියන එක තෝර ගන්න ලේසියි. මනුස්සයා වංක වෙන්නෙ කොහොමද? හිතින්, වචනයෙන්, කයින් වංක වෙනවා. කාය වංක, වචී වංක, මනෝ වංක කියලත් පෙන්වන්න පුළුවන්.

සතුන් මැරීම, සොරකම, කාමයෙහි වරදවා හැසිරීම කියන්නෙ කාය වංක. මුසාවාද, කේළම්, පරුස වචන, හිස් වචන කියන්නෙ වචී වංක. දැඩි ලෝභය, ව්‍යාපාදය, මිච්ඡා දිට්ඨිය මනෝ වංක. මේවායින් වෙන්වීම අවංකයි. කෙනෙකුට වරදක් කළොත්, ඒ වරදින් පාඩුවට පත්වෙන අය ඉදිරියේ කෙලින් ඉන්න පුළුවන්ද? ඒ අයට මූණ දෙන්නෙ නැතුව හැංගිලා යන්නයි බලන්නෙ. එතකොට වංක වෙන්න සිද්ධ වෙනවා. අවංක වුනොත් තමයි ඍජු වෙන්න පුළුවන්. හිතින්, කයින්, වචනයෙන් අවංක වෙන්න නම් දස අකුසලයෙන් වෙන් වෙන්න ඕන.

ගෝ මූත්‍ර වංකය කියල, වංකකම පෙන්වන විදිහක් ගැන කියවෙනවා. කරත්තෙක බැඳපු ගවයෙක් කරත්තෙ ඇදගෙන යන ගමන් පාර දිගේ මුත්‍ර කරනවා. ඒ මුත්‍ර පාර, වළලු වළලු ආකාරයට පාරෙ සටහන් වෙනවා. ඒ වගේ සමහර මිනිස්සු හිතෙනුත් පව් කරනවා. කයිනුත්, වචනයෙනුත් පව් කරනවා. හැම තැනම ඇදයි, ගෝ මුත්‍ර වංකය වගේ වංකයි. නගුලෙ දෙකෙළවර ඇදයි, මැද්ද ඇද නෑ. ඒ වගේ සමහර පුද්ගලයින් යමක් කියන්නෙ හිතේ එකක් තියාගෙන. කියන කොට අවංකයි, කරනකොට අවංක නෑ. ඒකට කියනවා නංගල කෝටි වංකය වගේ කියල.

සමහර පුද්ගලයින්ගෙ ජීවිතයේ සැඟවුන පැති තියෙනවා. සුචරිතවත් මතුපිට පෙනුමක් හදාගෙන දුසිරිතට නැමිල ජීවත් වෙනවා. තව සමහර අය හොඳට කතා කරනවා, හොඳ ගුණ යහපත් අය වගේ පේන්න කටයුතු කරනවා. ඒ වුනාට හිත අපිරිසිදුයි. යමක් දෙන්නෙ පසුවට දහයක් ගන්න බලාගෙන. හඳට ටිකක් ඇතින් පිහිටන චන්ද්‍රවංකය වගේ විවිධ වංක ගති තියෙනවා.

මේ වංකකම් සියල්ල අත්හැරල දස අකුසලයෙන් වෙන් වෙලා, ඇද නැතිව හිස කඳ කෙලින් තියාගෙන යන්න පුළුවන් විදිහට අවංකව කටයුතු කරනව නම්, උජුව කියන ගුණයට පත්වුන කෙනෙක් වෙනවා.

සූජුව කියන්නෙ සුවයට උජුව වුනාම. සුවය කියන්නෙ ලෞකික කම් සුව නෙවෙයි. ආර්යන් දකින නිවන් සුවය පරමාර්ථ කරගෙන අවංක වෙන්න ඕන. තපෝ ගුණය හැර, බොජ්ජංග ධර්ම හැර, නිවන හැර ලෝක සත්වයාට තවත් සුවයක් නොදකිමි... කියලයි බුදුන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ.

සුවච කියන්නෙ කීකරු කියලයි සිංහලට තෝරල තියෙන්නෙ. "ආ... ඒ එයාගෙ සුවච කීකරු ගෝලයනේ..." ආදී වශයෙන් යම් කෙනෙක් ගැන හඳුන්වන විදිහක් අපි අහල තියෙනවා. එතනදි තේරෙනවා, සුවච කියන්නෙ කීකරුකම වෙන්න බෑ කියන කාරණය. ඒ පද දෙකට අර්ථ දෙකක් තියෙන්න ඕන. කරත්ත දක්කන පරණ කරත්ත මාමල කියනවා "මූ හොඳ වස්සා, බොහොම කීකරු සතා..." කියල. ඒ කිව්වෙ කී + කරු කියන වචන දෙකේ එකතුවෙන් එන අදහස. **කිව්ව දේ කරන නිසා කීකරු කියනවා.** හා... යමං පුතා කිව්වම කරත්තෙ ඇදගෙන යනවා. හෝව් පුතා හෝව්... කිව්වම නවතිනවා. කිව්ව දේ කරනවා. සුවච කියන එකට මේ අර්ථය ගත්තොත්, පාතාල නායකයන්ටත් කීකරු

ගෝලයො ඉන්නවා. ඒ අය ලෞකික වශයෙන් වුනත් හොඳද? ලෝකෝත්තර වශයෙන් නිවන් දකීවිද?

සුවච + ඕ, ච + අස්ස කියල වචන දෙකම පද බෙදල බැලුවම, සුවය ජනිත වන ආකාරයේ ධර්මයන් චිත්තයෙන් ඇසුරු කරන එකට සුවචෝ චස්ස කියන්න පුළුවන්. තපෝ ගුණය, බොජ්ජංග ධර්ම, නිවන තමයි සුවය කියල බුදුන් වහන්සේ දේශනා කළේ. එහෙනම් රාග, ද්වේශ, මෝහ දුරු කිරීම සඳහා බොජ්ජංග ධර්ම වැඩීමට හිත යොමු කරන තැනැත්තා සුවචෝ චස්ස වෙනවා.

දැන් මේ විදිහට කටයුතු කරගෙන යනකොට, තමන් ළඟ තිබුන රාග, ද්වේශ, මෝහ දුරුවෙලා ගිය ප්‍රමාණය ආවර්ජනා කරල බැලුවම, මේ ලෝක ආස්වාදවලට රැවටිලා, මුළා වෙලා ආව සසර ගමනේ දුක් ගිනි දාහ ගිනි යම් තරමකට නිවිල තියෙන බව දකිනවා. අත්දැකපු නිවන් සුවය සිහි කරන චිත්තයටත් සුවචෝ චස්ස කියන්න පුළුවන්. ඉස්සර දූවි දූවී හිටිය හැටිත්, දැන් නිවිච්ච ස්වභාවයත් මෙනෙහි කරල බැලීමෙන් අත් හැරීම, නොඇල්ම ශාන්තයි ප්‍රණීතයි කියල වැටහෙනවා.

රන් ආභරණ හදන රන්කරුවෙක්, අපිරිසිදු රත්‍රන්, කෝවක දමල රත් කර කර අපද්‍රව්‍ය ඉවත් කරල සුද්ධ කරල මෘදු රත්‍රන් වෙන් කර ගන්නව වගේ, නිවන් අවබෝධය පූර්ණ කර ගන්න තමන්ගෙ හිතේ තියෙන රාග, ද්වේශ, මෝහ කියනඅපිරිසිදු පාප මූලයන් ටිකෙන් ටික සුද්ධ කරගන්නඕන. එහෙම කරගෙන නකොට දස අකුසලයෙන් වෙන් වෙනවා. පර පණ නැසීමෙන්, සොරකමින්, කාම මිච්චා චාරයෙන් වෙන් වෙන නිසා කය මෘදු බවට පත් වෙනවා. මුසාවාදයෙන්, කේලමෙන්, පරුස වචනයෙන්, හිස් වචනයෙන් වෙන්වෙන නිසා වචනය මෘදු බවට පත්වෙනවා. ව්‍යාපාදයෙන්, දෝමනස්ස-යෙන්, මිච්ඡා දිට්ඨියෙන් වෙන්වෙලා මනස මෘදු බවට පත්වෙනවා.

මේ විදිහට මුදු ගුණයට පත්වෙන කොට, මේ ලෝකෙ තවත් කෙනෙකුට දුක් ගිනි දීල අල්ල ගන්න, මගේ කරගන්න, මට කරගන්න "මම, මගේ" කියල සෙය්‍ය මානයෙන්, සදිස මානයෙන්, හීන මානයෙන් මැනගෙන හිටිය දේවල්වල වටිනාකම අඩු වෙනවා. ඒවා කැඩිල බිඳිල වැනසිලා යන, කඩල බිඳල වනසල දමන්න පුළුවන්, කැඩෙන බිඳෙන වැනසෙන, අනිච්ච දුක්ඛ අනත්ත අසුභ ගොඩවල් කියල අවබෝධයෙන් අනතිමානී ගුණයට පත්වෙනවා.

සන්තුස්සකෝච කියන්නෙ සන්තානය තොස් කරන (හිත සතුටු කරන) ක්‍රියාවලට. දඩයක්කාරයෙක්ගෙ දඩයම සරුවුන දවසටත් සන්තානය තොස් වෙනවා. නමුත් ඒක ලෝභ, දෝස, මෝහ මූලික වෙච්ච තොස් වීමක්. ඒවා නිවනට හේතු වෙන්නෙ නෑ. මෙතන කියන්නෙ අලෝභ, අදෝස, අමෝහ මූලික වෙච්ච සිතිවිලි, ක්‍රියා, වදන්වලින් තොස් වීමක්, සතුටු වීමක්. අකුසල චේතනාවක් නැති හිතක බොජ්ජංග ධර්ම වැඩෙන කොට ඇතිවෙන ප්‍රීති මනස්ස කායෝ... ආදී වශයෙන් විස්තර වෙන, කය සැහැල්ලු කරන සිතේ සතුටු බව.

මේ ලෝක සත්ත්වයාට තියෙන මහා බර තමයි, සතර අපායෙන් නිදහස් නැතිකම. අපට අමාරු විභාගයක් තියෙනව නම්, ඒක ඉවර වෙනකල්ම මහ බරක්. ඉඩ කඩම්වලට මොනව හරි නඩුවක් එහෙම තියෙනව නම්, තීන්දුවක් ගන්න කල්ම හරි බරක්. ඒ වගේ මතු ඉපදෙන්න හේතු සකස් වෙලා තියෙන කාම භව, රූප භව, අරූප භව මහා බරක්. විපාක දුක් මොන වගේද කියල දන්නෙ නෑ. සෝවාන් වුනාම සතර අපා බරෙන් නිදහස්. මේ තුන් ලෝකෙ කොතැනක හරි ඉපදුනොත්, නැවත සංඛාර ගොඩ නගල තවත් බරක් එකතු වෙනවා. ඒ ඒ භව ගොඩනැගෙන සංඛාර බර දුරීමෙන් ඈත් වෙලා, නිවන් සුවයට බර සංඛාර දරන එකට සුභරෝච කියනවා. සිවුපසයට උවමනා කරන ටික සකස් කර ගත්තම, ඇති කියන තැනට මානසිකත්වය සකස් වුනා නම්, මේ කය පෝෂණය කිරීමත් බරක් නෑ. එතකොට හිත කය දෙකම සුභරයි.

අප්ප කිච්ඡ කියන්නෙ අල්ප කෘත්‍ය කියන එක. සිංහල වෙනුවට සංස්කෘත පදයකින් තේරුම දුන්නම හරි අදහස එන්නෙ නෑ. ජීවත් වෙන්න රස්සාවක්වත් නොකර ඉන්න එකත් අල්ප කෘත්‍යයි. ඒක මෙලොවටවත් යහපතක් වෙන දෙයක් නෙවෙයි. එහෙනම් මොන කෘත්‍යද අල්ප වෙන්න ඕන? (ක + ඉච්ඡ) පහත් බවට පත්වෙන, සතර අපාගත වෙන, ක්ෂය වෙන දේට කැමති වැඩ අල්ප කරගන්න ඕන. මේ ලෝකයට බැඳිච්ච මහා වැඩ ගොඩ බහු කිච්ඡයි. ඒවා අඩුකර ගන්න ඕන. රාග, ද්වේශ, මෝහ මූලික වෙන වැඩ නිවනට බාධා කරනවා. හිතින්, කයින්, වචනයෙන් නිවන මුල් කරගෙන කරන කියන කටයුතු සැහැල්ලුයි, අප්ප කිච්ඡයි.

ලහුතා කියන්නෙ සැහැල්ලු බව. ලහුක කියන්නෙ ලාමක කාම ගති ඇති බව. සල්ලහුක කියන්නෙ ඒ ලාමක කාම ගති සලා හරින්න කියන එක. සල්ලහුක වුත්ති කියන්නෙ ඒ ලාමක කාම ගති අත්හැරීම, සලාහැරීම සඳහා කරන කියන කටයුතු.

සාන්ත වූ ඉන්ද්‍රිය ඇති බවට සන්තින්ද්‍රියෝච කියනවා. ඉන්ද්‍රිය සංවරය කියල දෙයක් තියෙනවා. (සං + වර) ඇස, කන, නාසය... ආදී ඉඳුරන්ට ගෝචර වන රූප, ශබ්ද, ගන්ධ... ආදී අරමුණු ස්පර්ශ වුනාම ලෝභයෙන්, ද්වේශයෙන්, මෝහයෙන් සහ අවිද්‍යා සහගතව අලෝභයෙන්, අද්වේශයෙන්, අමෝහයෙන් සිතිවිලි, ක්‍රියා, වදන් ගොඩ නැගීම වරනව නම්, ඒ ඒ ඉන්ද්‍රිය සංවර වුනා කියල කියන්න පුළුවන්. ඒ ඒ අරමුණු ස්පර්ශ වුනාම ඇලීම් ගැටීම් දුරු කරගෙන අරමුණ නිවනට යොමු කරගන්න ඕන. කොහේ හරි ගෙදරක හදන පූසෙක් ඇවිත් අපේ මිදුලෙ ජරා කරනවා. ද්වේශයක් එන අරමුණක්. පූසො හැදුවට හොඳ නරක පුරුදු කරන්න බැහැනෙ. ඒ අයට දොස් කියල වැඩක් නෑ. පූසන්ට කියල ඉඩම් වෙන් කරලත් නෑ, වැසිකිළි වෙන් කරලත් නෑ. පව් කරල විපාක ගෙවන්න කයක් ලැබිල, ඒ කය නිසා තවත් පව් කරනවා. අපිත් ඔය විදිහට අනන්ත සංසාරෙ දුක් විඳල තියෙනවා. මතුවට නම් ඒ වගේ දුක් විඳින්න සතර අපායෙ උපදින වැඩ කරන්නෙ නෑ කියල, ධර්මය මෙනෙහි කරල ද්වේශය දුරු කරගන්න ඕන. පූසට ගහන්න හිතෙන හිත, කය දෙක සංවර කර ගන්න ඕන. පරිසරය පිරිසිදු කරගන්න ඕන නිසා ජරාව අස් කරල පිරිසිදු කර ගන්නවා. ඇස අරමුණ ගෙනත් දුන්න විතරයි, හිත කය දෙකයි සංවර කර ගත්තෙ. ඇසක් තියෙන කල් පෙනෙන එක නවත්වන්න බෑ. ඇසෙන් දක්ක රූපයත් එක්ක ඡන්ද රාගයෙන් බැඳෙන එක නතර කිරීමෙන් ඉන්ද්‍රිය සංවරය ඇතිකර ගන්න ඕන. අනෙක් ඉන්ද්‍රියන්වලින් ස්පර්ශ වෙන අරමුණු ගැනත් මේ විදිහට සංවර වෙන්න ඕන.

පාක කියන්නෙ පැසෙන දේවල්. නිපකෝ කියන්නෙ පැසෙන දේවල් නැති බව. පැහෙන්නෙ සතර අපාය වගේ දුක්ඛිත තැන්වල ඉපදුනොත්. එතකොට දුකෙන් දැවෙනවා,



තැවෙනවා, බොහෝ කාලයක් විවිධාකාර දුක් විඳිනවා. ඒ වගේ දුකෙන් පැහෙන තැනකදි කුසල මාත්‍රයක් සිහි කරන්නවත් බෑ. කර්මයක් කරන්න කලින් තිරිසන් වෙන්න වේවිද, ප්‍රේත වෙන්න වේවිද, නිවනට බාධා වෙනවද කියල හිතල බලන්න ඕන. පාකයක් කළොත් විපාකයක් විඳින්න වෙනවා. කම්මා විපාකා වත්තන්ති - විපාකෝ කම්ම සම්භවෝ... කියන දේශනාව අනුව කර්මයෙන් විපාක විඳිනකොට, ඒ විපාක කයෙන් නැවත නැවත කර්ම රැස් කරනවා. පහත් කර්ම සිද්ධ කරල පක්ෂියෙක් වෙලා ඉපදුනාම, අමු අමුවෙම කුඩා කෘමි සත්තු මරාගෙන ආහාරයට ගන්නවා. අන්තිමට ක්‍රමයෙන් පල්ලම් බැහැල පක්ෂියෙකුටත් වඩා ආයුස අඩු තිරිසන් සතෙක් වෙලා බොහෝ කාලයක් දුකෙන් පැහෙනවා. නිරයේ ඉපදුනොත් කර්ම ශක්තිය ගෙවිල ඉවර වෙනකල් නිදහස් වීමක් නෑ. **දුගති කර්ම විපාකවල භයානකකම වගේම කුසල විපාකවල බලවත්කම පැහැදිලි වෙන සූත්‍ර දේශනාවක්** බුද්දක නිකායේ 1 වෙනි කාණ්ඩයේ 223 පිටුවේ සඳහන් වෙනවා, සුප්පබුද්ධ කුට්ඨි සූත්‍රය කියල. පිළිකුල් සහගත කුෂ්ඨ රෝගියෙක් දැක්කම අපි වුනත් පිළිකුලෙන් කෙළ ගහනවා. රෝගියාට කෙළ ගැහුවෙ නැති වුනාට ඒකෙන් නිගරු කිරීමක් සිද්ධ වෙනව කියල අපි හිතන්නෙ නෑ. ඒ නිගරු කිරීම පාපයක් කියල අපි හිතන්නෙත් නෑ. නමුත් ඒ පාපය පුද්ගල ගුණ මහත්වය අනුව අඩු වැඩි වෙලා තියෙන ආකාරය මේ සිද්ධියෙන් පැහැදිලි වෙනවා.

"මහණෙනි පෙර වූවක් කියමි. සුප්පබුද්ධ කුට්ඨී තෙම මේ රජගහ නුවරම සිටු පුත්‍රයෙක් විය. හේ උයන් බිමට යන්නේ නුවර පිඬු පිණිස පිවිසෙන තගරසිඛී නම් පසේ බුදුහු දිටී. සිවුරෙන් ඇඟ වසා ඇවිදුනා මේ කුෂ්ඨයා කවරෙක්දැයි සිතා, කෙළ එව නිගරු කොට නික්ම ගියේය. හේ ඒ කර්මයේ විපාකයෙන් බොහෝ සිය දහස් ගණන් අවුරුදු නිරයේ පැසුනේය. ඒ කර්මයේම ඉතිරි විපාකයෙන් මේ රජගහ පුරයෙහිම මිනිස් දිළින්දෙක් වූ, මිනිස් දීනයෙක් වූ කුෂ්ඨීයෙක් විය. හේ තථාගතයන් වහන්සේ දෙසූ ධර්ම විනය නිසා සැදැහැ සිතින් සමාදන් කොට මරණින් මතු සුගති සග ලොව පැමිණියේ හේ එහි පැහැයෙන්ද යසසින්ද අන් දෙවියන් ඉක්ම බබළා"යි භාග්‍යවතුන් වහන්සේ වදාළ සේක.

එතකොට කර්මය සිද්ධ කරන්න ගතවුනේ තත්පර ගණනයි. හැබැයි විපාක ගෙවන්න බොහෝ සිය දහස් ගණන් අවුරුදු නිරයේ පැහිලත් ඉවර වුනේ නෑ.

අද දවසෙ කුඩා පාසල් දරුවො පවා බහු ගබ්බයි. සුපිරි තරු බිහි කරන තරඟවල කෙළවරක් නෑ. අපට සෙතක් නැති, අපේ විවේකය පැහැර ගන්නා, ව්‍යාපාර ලෝකය නිදහසේ විසිරුවා හරින නොයෙක් ආකාර අන්තර්ජාල විස්තර බල බලා, අස අසා ඔළුවෙ පුරවගෙන බහු ගබ්බ වෙලා. මේ දේවල් ගැබ් කර ගත්ත ඔළුවල යහපත් ගුණ ධර්ම, සිරිත් විරිත් වගේ අධ්‍යාත්මය දියුණු කරන දෙයක් දාගන්න ඉඩක් නෑ, කාලයක් නෑ. ගෙදර දොර බඩු මුට්ටු, ඇඳුම් අල්මාරි, පොත් රාක්ක අනවශ්‍ය දේවල්වලින් පිරිල. ධර්මය වුනත් බොහෝ පොතපත කියවීමෙන් දැන ගත්ත දේවල් තවත් කෙනෙකුට සන්නිවේදනය කරන්න හිතෙනවා. දැනුම හිතට කරදර කරනවා. එක ගාථාවක් නිවැරදිව හරියට තෝරගෙන අවබෝධ කරගන්න එක වැදගත්. ඒ අනුව නිවනට යොමු කරල ජීවිතය හැඩගස්ස ගන්න. වැඩිපුර දේවල් ගැබ් කරගෙන නැත්නම්, අත් හරින්න, ක්ෂය කරන්න තියෙන්නෙත් ටිකයි. අප්පගබ්බ බව නිවනට පහසුයි.

**ලිච්ඡවී රජවරු තමන්ගෙ කුල පරම්පරාවෙන් පැවතගෙන ආව පූර්ව දේවතා පිදීම කඩ නොකරන තාක්, ඔවුන්ට පිරිහීමක් වෙන්නෙ නෑ කියල** බුදුන් වහන්සේ දේශනා කරල තියෙනවා. එහෙනම් කුලයෙහි නොඇලෙන්නේය කියන එක හොඳින් විමසල බලන්න ඕන. ලෝකයා කුල සිරිත් කියල සම්මත කර ගත්ත හොඳ දේවල් තියෙනවා. **ධර්මපාල ජාතක කථාවේ එන විදිහට, තමන්ගෙ පරපුරේ අය කවුරුවත් ප්‍රාණඝාත කරන්නෙ නැති නිසා අඩු වයසෙන් මැරෙන්නෙ නෑ, ඔය ඇටකටු මගේ පුතාගෙ වෙන්න බෑ, මම ඒක පිළිගන්නෙ නෑ... කියල රජතුමා කියනවා. ඒ කුලේ අය ප්‍රාණඝාත නොකරන නිසා ආයුස හීන වෙන්නෙ නෑ. ඒක හොඳ කුල සිරිතක්. ඒක අනනුගිද්ධ කරන්න හොඳ නෑ. ඒ සිරිතට අනුකූල වෙන්න ඕන. එහෙනම් හොඳ කුල සිරිත් ඉදිරියටත් රැකගන්න එක හොඳයි.**

යම් යම් ක්‍රියාකාරකම්වලට කුල වුනාම අනුකූල වෙලා ඒ බව පතනවා. උදාහරණයක් හැටියට බීමට ඇබ්බැහි වෙච්ච අය එකතුවෙන බේබදු කුලය හොඳ එකක් නෙවෙයි. ඒ කුලයට අනුකූල වුනොත්, අනුගිද්ධ වුනොත්, ඒ බේබදු බව ලැබෙනවා. දුකෙන් දුකටම පත් වෙනවා. සත්ත්ව ලෝකවල තියෙන විවිධ ගති ලක්ෂණවලට සමහර මනුස්සයින් කුල වෙනවා. බලු ගති, හරක් ගති, ඌරු ගති... ආදී කුලයන්ට අනුකූල නොවී අනනුගිද්ධ වෙන්න ඕන. මෙන්න මේක නිවනට හේතු වෙන කුලේසු අනනුගිද්ධෝ කියන කුලයන්හි නොඇලීමක්.

ඒ වගේම කුහුලක් ඇතිවුනාම ධර්මය වටහාගන්න බෑ. මනුස්සයින් විවිධ කාරණා ගැන කුහුල් සිත් ඇතිකර ගන්නවා. බිරිඳ, ස්වාමියා, දූදරුවො, දේපල, රැකියාව... ආදී දේවල් ආරක්ෂා සහිතද, ඒවා අහිමි වෙයිද, කැඩෙයිද, බිඳෙයිද... ආදී වශයෙන් සිවු අරිසස් නොදක්ක අයට හිතේ කුහුලක් තියෙනවා. ඒ ජාති ධර්ම කෙරෙහි කුහුල් සිත් ඇතිකරනොගන්න එකටත් කුලයන්හි නොඇලීම කියල අර්ථ ගන්න පුළුවන්. ඒකත් නිවනට හේතුවෙන කුලයන්හි නොඇලීමක්.

න ච බුද්දං සමාචරේ කිඤ්චි යේන විඤ්ඤූ පරේ උපවදෙයුං... කියන්නෙ, ප්‍රඥාවන්ත වූ, මග ඵල නුවණ ලද අය විසින් ගරහනු ලබන, අසමාචාර

ක්ෂුද්‍ර වැඩ, ලෝකයා නිගරු කරන පහත් වැඩ නොකළ යුතුයි කියන එක.

සුබය කියන්නෙ නිවන් සුවයට. ඛේම කියන්නෙ සසර බයින් මිදීමේ ශාන්තියට. සාමාන්‍ය ලෝකයා පින් කරල නිවන් දකිත්වා කියල පැතුවට, ඒ අය නිවන සළකන්නෙ ගින්නක් හැටියට. ඇත්තටම නිවන් දකින්න කැමති අය බණක් භාවනාවක් කරගන්න ගෙදර දොරේ වැඩ කටයුතුවලින් නිදහසක් ලැබෙන කල් බලාගෙන ඉන්නවා. රැකියාවට යන අය, පාසැලට යන අය ඒ ඒ තැන්වලට පිටත් වෙලා ගියාම ගෙදර නිස්කලංකයි. ඒ අය ඒ වෙලාව එනකල් බොහොම උනන්දුවෙන් ඉන්නවා. ඒත් පස්කම් සැපයට කැමැත්තෙන් බැඳිල ඉන්න අය "අයියෝ මහත්තයත් නෑ, දරුවත් නෑ, ගෙදරම පාළුයි..." කියල තැවෙනවා. ඔවුන් නැවත එනකල් රාග ගින්නෙන් දැවෙනවා, මෝහ ගින්නෙන් දැවෙනවා. ඒ අය ඒ සංසාර ගින්න දකින්නෙ නිවනක් හැටියට. පහ + අළුයි, පස් කම් සැප නැති වුනාම පාළුයි. සාමාන්‍ය ලෝකයා දකින, විඳින සුවයයි ආර්ය පුද්ගලයා දකින, විඳින සුවයයි අහසයි පොළොවයි වගේ දුරස්. ඒ කියන්නෙ ආර්යන් සුවය දකින්නෙ ප්‍රඥා චෛතසිකයෙන් මිසක් වේදනා චෛතසිකයෙන් නෙවෙයි. නමුත් පෘතජ්ජන ලෝකයා සුවය දකින්නෙ වේදනා චෛතසිකයෙන්.

ධර්ම ශ්‍රවණය කරල, සසර ගමන ගින්නක් බව දැකල, නිවන් දකින්න පතන අය තමන්ගෙ වගේම අනිත් අයගෙත් පංචස්කන්ධය ගින්නක් කියල දකිනවා. පැවැත්ම තුළ තියෙන ආස්වාද සුවය ගින්නක්, නිවන් සුවය හැර, තපෝ ගුණය හැර, බොජ්ජංග ධර්ම හැර වෙනත් සුවයක් නෑ කියල දකිනවා. ඛේමිනෝ හොන්තු කියන්නෙ නිවන් සුවයට පත්වේවා කියන එක. මුදු ගුණයට පත්වුන, අනතිමානී ගුණයට පත්වුන ආර්ය ගුණ ඇති පිරිස, මේ නිවන් සුවය දන්නෙ නැතුව සසර දුක් විඳින සියලු ලෝක සත්වයන් කෙරෙහි දයානුකම්පාවෙන් "මේ අයට සිවු අරිසස් අවබෝධ වෙත්වා! සසර බය දුරුවෙලා නිවන් සුවයෙන් සුවපත් වෙත්වා..." කියල මෙත් වඩනවා.

පංච කාමය පානය කරන්නා (ප්‍රාණියෙක්) පානී වෙනවා. පංච කාමය පානය කරමින් ඒ සඳහා වෙහෙස වෙමින් සංඛාර ගොඩනැගීම හේතුවෙන්, සතර මහා භූතයන්ගෙන් සකස්වෙන පංචස්කන්ධය භූතයක්, බොරුවක්, ඇති බවක් මවාපාන ඒත් ස්ථිරව නොපවතින වෙනස් වෙවී යන ධාතු සම්පිණ්ඩනයක්. මේ පානීන් සහ භූතයන්, සතර මහා ධාතුන්ගේ සකස් වීම, ස්ථිරව පවතින, ඇති දෙයක් හැටියට සළකගෙන පංච කාමය පානය කර කර භූතය ගොඩ නග නගා දුක් විඳිනවා. බය තැති ගැනුම්වලින් ත්‍රස්ත වෙනවා. ත්‍රස්ත වෙනව කිව්වෙ මේ සකස් වෙච්ච භූතය කැඩෙනවා, බිඳෙනවා, දිරනවා, අනිත් අය විසින් කඩල බිඳල දානවා. මේ වගේ දේවල් සිද්ධ වෙනකොට, අනේ මට මෙහෙම වෙන්නෙ ඇයි? මට සිද්ධ වුන දෙයක්! මගේ දේවල්වලට සිද්ධ වුන දෙයක් කියල භූතයේ යථා තත්ත්වය නොදන්න නිසා ත්‍රස්ත වෙනවා. මේ අයට තමයි තසාවා කිව්වෙ. අවිද්‍යාවයි තණ්හාවයි නිසා මේ සිද්ධවෙන ක්‍රියාව තේරුම් ගන්න බැරිව මේ සසරටම ඇලිල, ස්ථාවර වෙලා. ථාවරාවා කිව්වෙ ඒකයි.

අවසානයක් නොදක මේ දීර්ඝ සසරේ (දීඝාවා) ත්‍රස්ත භවේ හිරවෙලා විඳින පංචකාම සම්පත්වලින් මහන්තත්ත වෙලා (මහන්තාවා), ඒ සංසාර මාධ්‍යයටම බැහැගෙන (මජ්ජිමා), නුවණ කෙටි වෙලා (රස්සා), ක්ෂුද්‍ර බවට පත්වෙලා (කානුක), සසර දුකින් තැලි තැලී (ථූලා), මේ සසර ගමන හරි හොඳයි, වටිනවයි කියල දෘෂ්ටි ගත වෙලා (දිට්ඨාවා), ඒ අවිද්‍යා දෘෂ්ඨිය නිසා සත්‍යය දකින්න බැරිව (යේව අද්දිට්ඨා), අවිද්‍යා අන්ධකාරයේ වාසය කරනවා (වසන්ති අවිදූරේ). පංච කාමය පානය කර කර, භූත භව ගොඩ නග නගා සසර සැරි සරන (භූතාවා සම්භවේසීවා) සියලු සත්ත්වයෝ සිවු අරිසස් දහම අවබෝධ කරගෙන නිවන් සුවයෙන් සුවපත් වෙත්වා! ආර්යන්ගේ මෙත් වැඩීම මේකයි. මේ සියලු සත්ත්වයන් පිළිබඳ මැනගත්ත දෙයින් සත්ත්වයෙක් / පුද්ගලයෙක් වශයෙන් ගන්න සුදුසු කිසිවක් නැති බව දැනගෙන, ඇලෙන්නෙ බැඳෙන්නෙ නැති වුනාම, මෙත් වඩන හිත මනෝ මානසංවලින් එහාට යන්නෙ නෑ. මානසං භාවයේ ඉඳගෙන අප්‍රමාණ ලෝක සත්ත්වයන්ට මේ පැතුම පතනවා. කිසිම සත්ත්වයෙකුට හදයං (හාද) වෙන්නෙ නෑ.

එකෙක් තවෙකෙකුට කුබ්බැහිකම් නොකරාවා (න පරෝ පරං නිකුබ්බේථ). කුබ්බැහිකම් කියන්නෙ "කු" කියන පහත් වැඩවලට, අනුන්ට හිංසා පීඩා කරන වැඩවලට ඇබ්බැහි වෙලා. රොස් බව නිසා සැඩ බවට පත්වෙලා. බත රොස් වුනා කියන්නෙ බත පිච්චුනා කියන එක. රොස් බව කියන්නෙ යම් අදහසකින් දැවෙන පිච්චෙන ගතිය. එකිනෙකා ගැටිල, මගේ කරගන්න අයිති කරගන්න වටිනා දේවල් ලෝකයේ තියෙනවද? (බ්‍යාරෝසනා පටිඝ සංඥා). ඒ විදිහට කුබ්බැහිකම් කළොත් එකිනෙකාට දුකින් මිදීමක් නම් නෑ. (න අඤ්ඤ මඤ්ඤස්ස දුක්ඛ මිච්ඡෙය්‍ය).

ඒ නිසා අමා මැණියන් වහන්සේගේ අතිජාත පුත්‍ර ආයුෂ්මත් අරිහතුන් වහන්සේලා වෙන්න උත්සාහ වීර්ය කරන පිරිස අනු රක්ෂණය කරන්නේ යම් සේද, එසේම මේ සියලු සත්ත්වයෝ මානසංභාවයේ අපරිමාණං මෙත්තංච... කියන ආකාරයට මෛත්‍රිය වඩත්වා, උඩ යට වට සරස සම්බාධක නොවේවා, වෛර නොකරත්වා, අයහපත නොකරත්වා.

කායික වෙහෙස නිවා ගන්න නින්ද අවශ්‍යයි. සයානෝවා යාව තස්ස... කිව්වෙ සයනය කළ යුතු, නිදාගත යුතු ආකාරය මේ විදිහටයි යා වෙන්න ඕන කියන එක. සීතල නම් ගුලි වෙවී පෙරවගෙන, උෂ්ණ නම් පෙරෝන රෙදි ඉවත් කරල, විදුලි පංකා වායු සමීකරණ යන්ත්‍ර කියාත්මක කරල ගතට කාම සුවය හොයන නින්ද ගත මිද්ධයි. වෙහෙස නිවා ගන්න අවශ්‍යතාවයට නිදන නින්ද විගත මිද්ධයි. මේකෙන් කියන්නෙ නෑ, තමන්ට ලැබිල තියෙන යම් සුව පහසුවක් තියේ නම් ඒක පරිභෝග කරන්න එපා කියල. ඡන්ද රාගයෙන් තොරව ඒ දේවල් පරිහරණය කරන්න පුළුවන්. **උඩුකුරු නින්ද ප්‍රේත නින්ද, යටිකුරු නින්ද තිරිසන් නින්ද, වම් අත වම් කම්මුල යට තියාගෙන වම් ඇලයට හැරිල නිදන නින්ද කාම නින්ද. දකුණු අත දකුණු කම්මුල යට තියාගෙන දකුණු ඇලයට හැරිල දකුණු පාදය මත වම් පාදය මඳක් ඉදිරියට හිටින්න තියාගෙන නිදන ආකාරය සීහ සෙය්‍යාව හැටියට හඳුන්වනවා.**

**කාම පහසක් බලාපොරොත්තු නැතිව, වෙහෙස නිවා ගන්න අරමුණින් සීහ සෙය්‍යාවෙන් සැතපුනොත්, උදේ 4.00 - 4.30 ට විතර නිරායාසයෙන් අවදි වෙනවා. නින්ද ගිය කාලය තුළදී, ගෙවී ගිය ශරීර කොටස් ප්‍රකෘතිමත් වීම, රෝගී සෛල නිරෝගී වීම සිද්ධ වෙනවා (විශේෂ රෝගී අවස්ථාවක් නොවන විට). නින්ද ගිය බව නොදැනිම නින්ද යනවා. අවදිවෙන බව නොදැනිම ප්‍රබෝධයෙන් අවදි වෙනවා. මේ ආර්ය මාර්ගය වඩන ශ්‍රාවකයාට හෝ**



# නිවන් පූර්ණ කිරීමට ධ්‍යාන වැඩීම අත්‍යවශ්‍යද?

01 කොටස

ව සර සිය ගණනකට පසුව උතුම් ශ්‍රී සද්ධර්මය නැවත මතු වෙලා තියෙන මේ මොහොතේ, ධර්ම නියමයන්ට, ත්‍රිපිටක පෙළ දහමට පරස්පර යම් යම් දහම් කාරණා සම්බන්ධ වැරදි මතවාද සමාජගත වෙන බව දකින්න තියෙනවා. දහම නැගීගෙන එන මේ වගේ කාලයක ඒක යහපත් ප්‍රවණතාවයක් නොවන නිසා, ඒ මතවල යථා ස්වභාවය පෙන්වා දෙන්නයි මේ ලිපියෙන් බලාපොරොත්තු වෙන්නෙ. එහෙම නැතිව මේ පෙන්වාදීම පුද්ගල ප්‍රහාරයකට කරන දෙයක් කියල වැරදි විදිහට වටහා නොගත යුතුයි.

අධර්මය අවිනය දුටු තැන ධර්මයෙන් විනයෙන් කරුණු පෙන්වල, අධර්මය අවිනය යටපත් කරල, ධර්මය විනය නගා සිටුවන්න සිවු පිරිසටම තථාගතයන් වහන්සේ අවසර දීල තියෙනව වගේම, ඒක මහා සාසන සංග්‍රහයක් වෙනවා. **සද්ධර්ම ප්‍රතිරූපක පහල වීම ධර්මය යටපත් වෙන්න ප්‍රධාන හේතුවක් බව** තථාගතයන් වහන්සේ දේශනා කරල තියෙනවා. ඒ නිසා මේ ගැන කිසිවෙක් සිත් රිදවා ගන්න අවශ්‍යතාවයක් නෑ. **දුටු වරද කීමෙන් මෛත්‍රී වචී කර්මය පිරෙන බව සඳහන් වෙනවා. වරදට නිගරු කරල ඒක පෙන්වා දීම නිධානයක් පෙන්වා දීමක් වගේම, ඒ වගේ සත්පුරුෂයන් ඇසුරු කළ යුතු බවත්,** ධම්ම පදයේ පණ්ඩිත වග්ගයේ එන නිධීනංව පවත්තාරං... ආදී වශයෙන් කියන ගාථාවෙන් පෙන්වා දීල තියෙනවා.

"ඡන්නමති වස්සති
විවටං නාති වස්සති
තස්මා ඡන්නං විවරේථ
ඒවං තං නාතිවස්සති"

වරද වැසීමෙන් වරද වැඩි වෙනවා. වරද හෙළි කිරීමෙන් වරද වැඩි වෙන්නෙ නෑ. ඒ නිසා වරද හෙළි කරන්න. එතකොට

ශ්‍රාවිකාවට හෝ ඒ නිසා අවදි වෙන්න ඔරලෝසුවක් අවශ්‍ය නෑ. අවදි වෙලා මූණ හෝදගෙන කර්මස්ථාන වඩන්න ඕන. ඒ විදිහට නොකර නැවත නිදාගත්තොත් ථිනමිද්ධයට වැටෙනවා. සාමාන්‍ය සුළු අපහසුතා තිබුනත් නිරෝගී ආර්ය ශ්‍රාවක පිරිසට සුදුසු මාර්ගය මේකයි. ථිනමිද්ධය කියන්නෙ පංච නීවරණවලින් එකක්. නින්දට නෙවෙයි, නින්දෙන් ලබන ආස්වාද සුවයටයි මිද්ධය කියන්නෙ.

සිටින විට, හිඳින විට, ඇවිදින විට, නිදන විට... මේ විදිහට ථිනමිද්ධය දුරු කරගෙන, කිසිදු ලෝක සත්ත්වයෙක් කෙරෙහි බැඳීමක් නැති මානසං භාවයේ හිත පිහිටුවාගෙන, සියලු ලෝක සත්ත්වයෝ සසර දුක අවබෝධ කර ගනිත්වා, සිවු අරිසස් දහම දැනගෙන දස්සන සම්පන්නයෙක් වෙලා සිල්වත් බවට පැමිණෙත්වා, මේ බ්‍රහ්ම විහාරයෙන් වාසය කරත්වා, නිවන් සුවයෙන් සුවපත් වෙත්වා කියල අප්‍රමාණ මෙත් සිත වඩන්න.

මේ විදිහට කරන්නා වූ ආර්ය ශ්‍රාවක පිරිස කාමයන්ගෙන් වෙන්වෙලා, මනා හික්මීමට පත්වීම හේතුවෙන් නැවත නැවතත් මේ සංසාර ගැබේ ඉපදෙන්න එන්නෙ නෑ. නහි ජාතු ගබ්භසෙය්‍යං පුනරේතීති... කිව්වෙ ඒකයි.

කරණීය මෙත්ත සූත්‍රය ගෙවල්වල කියන්න හොඳ නෑ, භූත කරදර වැඩි වෙනව කියල සමහර අය අතර අදහසක් තියෙනවා. භූත කරදර දුරු කරගන්න බුදුන් වහන්සේ දීපු උපදේශයකින්, භූත කරදර ඇතිවෙන්නෙ කොහොමද කියල විමසල බලන්න ඕන. හේතුවක් නැතිව ඵලයක් හට ගන්නෙ නෑ. භූත වෙලා ඉන්නෙ කවුද, ඒ අය භූත වුනේ මොකක් නිසාද කියල තේරුම් ගන්න ඕන. ලෞකික ප්‍රශ්නවලට ලතැවෙවී, විවිධ ප්‍රශ්න ඇති කරගෙන හූල්ල හූල්ල ඉන්න එක පාපයක්. බය තැතිගැනුම් කියන්නෙ මෝහ මූලික සංඛාරයක්. මරණයෙන් පස්සෙ හූල්ල හූල්ල ඉන්න තැනක ඉපදෙන්න සිද්ධ වෙනවා. සුවපත් වෙන්න නම් ඒ භූතයගෙ බය තැති ගැනුම් දුරු කරන්න ඕන. ලෞකික ප්‍රශ්නවලට ප්‍රතිකර්ම හොයන අය අර්ථය නොදැන, භූතයා එළවන්න හිතාගෙන මේ සූත්‍ර දේශනාව කියවනවා. ඒ අදහසින් කියනකොට වචන පද මොනව කිව්වත්, අදහසට අනුව භූතයා හිතන්නෙ, මම ජීවත් වෙලා ඉදෙද්දි මේ අයට කළේ මෙහෙමයි, දැන් මාව පන්නන්න හදනව කියල. එහෙම හිතල තවත් බය වෙනවා, දුක් වෙනවා, කෝප වෙනවා. ඒ නිසා තමනුත් සුවපත් වෙලා, දුකට පත්වෙච්ච පිරිසත් සුවපත් වෙන්න නම්, අදහස නිවැරදිව වටහාගෙන තුන් ලෝ වැසි සියලු ලෝක සත්ත්වයන් කෙරෙහි පොදු දයානුකම්පාවෙන්, නිවන් සුවයට මග මේකයි, මේ බ්‍රහ්ම විහාරයෙන් වාසය කරල සසර දුකෙන් මිදෙත්වා කියල ප්‍රාර්ථනා කරන්න ඕන. හැම දෙනාම මේ කරුණු හොඳින් වටහාගෙන, තම තමන්ගෙ වැරදි අඩුපාඩු හදාගෙන මේ උතුම් බ්‍රහ්ම විහාරයෙන් වාසය කරත්වා.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැගවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ :*

**ඩබ්ලිව්. ඒ. තිළිණවතී**
**විශ්‍රාමික මහජන බැංකු නිලධාරිනී,**
**කඩවත - 011-2901508**

# නිවන් පූර්ණ කිරීමට ධ්‍යාන වැඩීම අත්‍යවශ්‍යද?

වරද වර්ධනය වෙන්නෙ නෑ.

"වජ්ජං ච වජ්ජතෝ ඤත්වා
අවජ්ජං ච අවජ්ජතෝ
සම්මා දිට්ඨී සමාදානා
සත්තා ගච්ඡන්ති සුග්ගතිං"
(ධම්ම පදය - නිරය වග්ගය)

වරද වරද විදිහටත්, නිවරද නිවරද විදිහටත් දැකීම සම්මා දිට්ඨියක්. ඒක සුගතියටත් හේතු වෙනවා.

මේ කාලයේ දහම සම්බන්ධයෙන් ඉදිරියට ඇවිත් තියෙන වැරදි මතවාද 2 ක් තියෙනවා. නිවන් පූර්ණ කරන්න ධ්‍යාන ලබන්නම ඕන, සම්මා සමාධිය කියන්නෙ රූපාවචර ධ්‍යාන හතරමයි, සමාධිය පූර්ණ වෙන්න ධ්‍යාන හතර ලබන්නම ඕන, එහෙම නැති වුනොත් සම්මා ඤාණ, සම්මා විමුක්තිය ලබල අරිහත් වෙන්න බෑ... මේ ආදී වශයෙන් එක මතයක් තියෙනවා. ධ්‍යාන වැඩීම අවශ්‍ය දෙයක් නෙවෙයි, ධ්‍යාන කියන්නෙ බමුණන්ගෙ වැඩ පිළිවෙලක්... මේ ආදී වශයෙන් තවත් මතවාදයක් තියෙනවා. අවිතක්ක අවිචාර සමාධිය ගැන අලුත්ම අර්ථකතන වගේම, අමුතුම ආකාරයේ අවිතක්ක අවිචාර සමාධි වඩන ක්‍රම කරලියට ඇවිත් තියෙනවා. මේ වගේ මතවාදවලට නිදැල්ලේ හැසිරෙන්න ඉඩ දුන්නොත්, ඒකෙන් සාසනයට වගේම පශ්චිම ජනතාවට සිද්ධ වෙන අවැඩ සුළුපටු නෑ. ඒ නිසා මේවා ගැන දැනුවත් වීම යුගයේ අවශ්‍යතාවයක්.

පළමුවෙන්ම, ධ්‍යාන කියන්නෙ බුද්ධ දේශනාවට අයිති නැති දෙයක්ද, බමුණන්ගෙ වැඩ පිළිවෙලක්ද කියල ධර්ම විනයට අනුව හොයල බලන්න ඕන. ධ්‍යාන වැඩීම බමුණන්ගෙ වැඩ පිළිවෙලක් නම්, ත්‍රිපිටක පෙළ දහම තුල ධ්‍යාන පිළිබඳව සිය ගණනක් සූත්‍ර දේශනා තියෙන්න විදිහක් නෑ. ත්‍රිපිටක පෙළ දහම කියන්නෙ සිවු පිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා විසින් සංගායනා කරමින් ඉතාම සුරක්ෂිතව රැගෙන ආපු නිර්මල ශ්‍රී සද්ධර්මය. ඒ තුල බමුණු මත තියෙනවා කීම, ඒ දහම ජීවිත පරිත්‍යාගයෙන් රැකගෙන ආපු මහ අරිහතුන් වහන්සේලාටත් කරන නිග්‍රහයක්. පසුකාලීනව සිදු කළ සිංහල පරිවර්තනවල යම් යම් අඩුපාඩු තියෙන්න පුළුවන් වුනත්, ඒවායෙත් 100% ක් වැරදි පරිවර්තන නෑ.

අභිධර්ම පිටකයේ විභංග-ප්‍රකරණයේ දෙවන කාණ්ඩයේ ධ්‍යාන විභංගයට අයිති කොටසේ 76 පිටුවේ " සියා ලෝකියා සියා ලෝකුත්තරා" කියල ලෞකික හා ලෝකෝත්තර (අනාර්ය, ආර්ය) වශයෙන් ධ්‍යාන කොටස් දෙකක් තියෙන බව සඳහන් වෙනවා.

ලෞකික ධ්‍යාන හෙවත් අනාර්ය ධ්‍යාන කියන්නෙ, මූලික ධර්මාවබෝධය තුළින් දර්ශන ඥානය නොලබපු අය වගේම, අබුද්ධෝත්පාද කාලවල යෝගීවරු, ඍෂිවරු පවා වඩන රූපාවචර, අරූපාවචර ධ්‍යාන. ඒ අය පඨවි, ආපෝ, තේජෝ, වායෝ, ආකාස, නීල, පීත, ලෝහිත, ඕදාත... වගේ ලෞකික රූපාවචර අරමුණු අරගෙන ඒ තුළින් සිත පුරුදු පුහුණු කරල පංච අභිඥා, අෂ්ඨ සමාපත්ති උපදවා ගන්නවා.

ලෞකික අරමුණු අරගෙන ආර්යන් දහැන් වඩන්නෙ නැති බවට, ඛුද්දක නිකායේ නෙත්තිප්‍රකරණයේ 62 පිටුවේ එන චතුබ්‍යුහාර විභංගයේ මේ විදිහෙ දේශනයක සඳහන් වෙනවා.

නච පඨවිං නිස්සාය ඣායති ඣායී ඣායතිච, නච ආපං..., නච තේජං..., නච වායුං...

පඨවි, ආපෝ, තේජෝ, වායෝ... ආදී අරමුණු අරගෙන ආර්යන් දහැන් නොවඩන බවත්, නමුත් නිවන සිහි කරගෙන ආර්යන් දහැන් වඩන ආකාරයත් මේ දේශනාවේ සඳහන් වෙනවා.

ඒ වගේම අංගුත්තර නිකාය (6) ආනිසංස වර්ගයේ 14 පිටුවේ එන සමාධි සූත්‍රය වගේම අ. නි. (6) අනුස්සති වර්ගයේ 666 පිටුවේ එන පඨම සමාධි සූත්‍රයෙත්, ඉහත සඳහන් ලෞකික අරමුණු අරගෙන ආර්ය දහැන් නොවඩන බව හා නිවන සිහි කරගෙන ආර්ය දහැන් වඩන බව සඳහන් වෙනවා. ආර්ය දහැන් වඩන ශ්‍රාවකයන් දකින ඉන්ද්‍ර, වරුණ, ප්‍රජාපතී ආදී දේවතාවන් මෙහෙම කියනවා. "යම් අරමුණක් නිසා ධ්‍යාන කරයි නම්, තොපගේ ඒ දහැන් අරමුණු නොපෙනේ. අපගේ දුර පටන් කරන නමස්කාරය වේවා." මේ දේශනාවන් අනුව ආර්ය දහැන් හා අනාර්ය දහැන් කියල ක්‍රමවේද දෙකක් තියෙන බව සඳහන් කරන්න පුළුවන්. (අං. නි. 6 - 610 පිටුව - සන්ධ සූත්‍රය)

අනාර්ය දහැන් වඩන පෘතජ්ජන අය ධ්‍යානයෙන් පිරිහෙන්නෙ නැතිව කළුරිය කළොත්, ඊට අදාළ බඹ තලයේ ඉපදිලා ආයුස තියෙන කල් වාසය කරල, එතනින් චුත වෙලා පසුව සතර අපාගත වෙන්නත් පුළුවන්. ආර්ය ධ්‍යාන ලාභියා බඹ ලොව ඉපදිලා ආයුස තියෙන කල් වාසය කරල කෙළෙස් ප්‍රහීණ කරල එහිම පිරිනිවන් පානවා. (අ. නි. 2 - පුග්ගල සූත්‍රය - 242 පිටුව) ධ්‍යාන ලාභියෙක් සෝවාන් වුනත්, සෝවාන් ආර්ය ශ්‍රාවකයෙක් ධ්‍යාන ලැබුවත්, ඔහුට ධ්‍යාන අනාගාමියා කියල කියනවා. මෙතනදී අනාගාමී කියන්නෙ, බඹ ලොව ඉපදුනාට පස්සෙ නැවතත් කාම සුගතියට එන්නෙ නෑ කියන අර්ථයෙන්. එහෙම නැතිව කාම රාග පටිඝ ප්‍රහීණ කළ අනාගා ඵල ලාභියා කියන අදහසින් නෙවෙයි.

සම්මා සමාධිය කියන්නෙ මොකක්ද කියල විග්‍රහ කරන සච්ච විභංග ආදී සූත්‍රවල විස්තර වෙන්නෙ මේ විදිහට. "කතමාචාවුසෝ සම්මා සමාධි ඉධාවුසෝ භික්ඛු විවිච්චේව කාමේහි විවිච්චේව අකුසලේහි ධම්මේහි සවිතක්කං සවිචාරං විවේකජං පීති සුඛං පඨමජ්ඣානං උපසම්පජ්ජ විහරති... (ම. නි. 3 - විභංග වර්ග - 518 පිටුව - සච්ච විභංග සූත්‍රය)

මෙහිදී ආර්ය ප්‍රථම, ද්විතීය, තෘතීය, චතුර්ථ කියන ධ්‍යාන 4 සම්මා සමාධිය විදිහට විස්තර කරල තියෙනවා.

ධ්‍යාන කියන ඒවා බුද්ධ දේශනාවට අයිති නෑ, ධ්‍යාන වැඩීම බමුණු මතයක් කියල කියන අයට, ඉහත දේශනාව අනුව ආර්ය මාර්ගයේ සම්මා සමාධිය බමුණු මතයක් කියල කියන්න වෙනවා. හැබැයි සම්මා සමාධිය ධ්‍යාන 4 විදිහට විග්‍රහ වෙලා තිබුනට, හැම අවස්ථාවකදිම සම්මා සමාධිය ධ්‍යාන 4 විදිහට විග්‍රහ වෙන්නෙ නෑ. ඒ පිළිබඳව පසුව මේ ලිපියේ විස්තර වෙනවා.

මහණෙනි, ඔබලාට නිවනත් නිවන් මගත් දේශනා කරනවා. නිවන කියන්නෙ රාග, ද්වේශ, මෝහ සහමුලින් ප්‍රහාණය කිරීමයි. නිවන් මග කියන්නෙ විවේකය, විරාගය, නිරෝධය ඇසුරු කළ නිවනට නැමුනු සම්මා සමාධිය වැඩීමයි. මහණෙනි, මේ රුක් මුල්ය, මේ ශූන්‍යාගාරයි. මේවාට ගිහින් ධ්‍යාන වඩන්න. පසුව පසුතැවිලි නොවන්න. මේ මා විසින් ඔබලාට කරන අනුසාසනාවයි." මේ නිවන් මග විස්තර කරපු එක ක්‍රමයක්. මෙතනදී ධ්‍යාන වැඩීම නිවන් මග විදිහට

විවරණය කරල තියෙනවා. (සංයුක්ත නිකාය 4 - දුතිය අසංඛත වග්ග. සම්මා සමාධි සූත්‍රය - 656 පිටුව)

මහණෙනි, අසුරු සැනක් ගහන තරම් වෙලා පළවෙනි ධ්‍යානය, දෙවෙනි ධ්‍යානය, තුන්වෙනි ධ්‍යානය, හතරවෙනි ධ්‍යානය, මෙත්තා චේතෝ විමුක්තිය, කරුණා චේතෝ විමුක්තිය, මුදිතා චේතෝ විමුක්තිය, උපේක්ෂා චේතෝ විමුක්තිය වඩනව නම්, ඔහු ධ්‍යාන ඇතිව වාසය කරන, රටවැසියාගේ දානයට ණය නැති, මාගේ අනුසාසනාව කරන කෙනෙක්. මේ ධ්‍යාන බහුල වශයෙන් වඩනව නම් කවර ප්‍රශ්නයක්ද? (අ. නි. 1 - අච්චරා සංඝාත වග්ගය - 80 පිටුව)

දීඝ නිකාය (1) 248 පිටුවේ එන කූටදන්ත සූත්‍රයේ, භික්ෂුව ප්‍රථම ධ්‍යාන පිළිවෙලින් චතුර්ථ ධ්‍යානයට පත්වෙලා, විපස්සනා ඥාන, ඍද්ධිවිධ ඥානය, දිබ්බසෝත ඥානය, පරචිත්ත විජානන ඥානය, පුබ්බේ නිවාසානුස්සති ඥානය, චුතූපපාත ඥානය කියන මේවා අනුපිළිවෙලින් ලබන බවත්, චතුරාර්ය සත්‍යය ඇති සැටියෙන් දැනගෙන ආශ්‍රව ප්‍රහීණ කරල අරිහත්වයට පත්වෙන බවත් සඳහන් වෙනවා.

කායගතා සතිය ආර්ය චතුර්ථ ධ්‍යානය විදිහට මජ්ජිම නිකාය (3) 244 පිටුවේ එන කායගතා සති සූත්‍රයේ විස්තර වෙනවා. පංච ඕරංභාගීය සංයෝජන ප්‍රහාණයට ධ්‍යාන වැඩිය යුතු බව මජ්ජිම නිකායේ එන මහා මාලුංක්‍ය සූත්‍රයේ සඳහන් වෙනවා. ඒ වගේම අ. නි. (2) රෝහිතස්ස වර්ගයේ එන සමාධි භාවනා සූත්‍රයේ, ධ්‍යාන වැඩීමෙන් දිට්ඨ ධම්ම සුඛ විහරණය, දිබ්බ චක්ඛු ඥානය, සතිය, ප්‍රඥාව (සති සම්පජඤ්ඤ), ආසවක්ඛය ඥානය කියන ආනිසංස ලැබෙන හැටි විස්තර කරල තියෙනවා.

සතර දැහැන් වඩන, බහුලව කරන භික්ෂුව නිවනට නැමුනු, නිවනට බර වූ කෙනෙක් බවත්, පංච උපාදානස්කන්ධයේ සමුදයත්, අත්ථංගමයත් (උදාවීම හා වැය වීම) මැනවින් වැටහෙන බවත්, ස. නි. එන සමාධි භාවනා සූත්‍රයේ වගේම පාචීන නින්නාදී සූත්‍රවලත් සඳහන් වෙනවා.

උදායී, මේ සාසනයේ භික්ෂුවක් පළමු, දෙවන, තුන්වන, හතරවන ධ්‍යාන ලබාගන්නවා. මෙය නෙක්කම්ම සුවයයි, පවිවේක සුවයයි, සංසිඳීම් සුවයයි, සම්බෝධි සුවයයි. මෙය සේවනය කරන්න. භාවිතා කරන්න. බහුලව භාවිතා කරන්න. මේ සුවයට බිය නොවිය යුතුයි. (ම.නි.2, භික්ඛු වග්ගය - 190 පිටුව, ලටුකිකෝපම සූත්‍රය)



විසාක, යම් භික්ෂුවක් ප්‍රථම ධ්‍යානය ලබාගන්නවද ඔහු රාගය පහකරනවා. එහි රාග අනුෂය නෑ. විසාක, යමෙක් හතරවන ධ්‍යානය ලබාගන්නවද ඔහු අවිද්‍යාව පහකරනවා. එය අවිද්‍යා අනුෂයෙන් තොරයි. (ම.නි.1, 702 පිටුව, චූල්ලවේදල්ල සූත්‍රය)

මහණෙනි, දැනුත් සැප ඇති, මතුවටත් සැප ලැබෙන ධර්ම සමාදානය කුමක්ද? යම් කිසිවෙක් ස්වභාවයෙන්ම තියුණු රාගය නැති, තියුණු ද්වේශය නැති, තියුණු මෝහය නැති කෙනෙක්ද, ඔහු නිතර රාග ද්වේශ මෝහ නිසා දුක් දොම්නස් විඳින්නෙ නෑ. ඔහු ප්‍රථම, ද්විතීය, තෘතීය, චතුර්ථ ධ්‍යාන ලබල වාසය කරනවා. මරණින් මතු සුගතියේ උපදිනවා. මහණෙනි, මෙය දැනුත් මතුත් සැප ඇති ධර්ම සමාදානයක්. (ම.නි.1, චූලධම්ම සමාදාන සූත්‍රය, 718 පිටුව)

මහණෙනි, නිවන් මග අනුගමනය කරන පුද්ගලයෝ හත්දෙනෙක් ඉන්නවා. එයින් උභතෝ භාග විමුක්ත පුද්ගලයාට හැර ඉතිරි ආර්ය පුද්ගලයන් හය දෙනාටම රූපාවචර ධ්‍යාන ඉක්මවූ අරූපාවචර සමාපත්ති නෑ. (ම.නි.2, 236 පිටුව, කීටාගිරි සූත්‍රය)

මේ විදිහට සූත්‍ර දේශනා ගණනාවකින්ම ධ්‍යාන වැඩීම ගැන සඳහන් කළේ, ධ්‍යාන මාර්ගය බමුණු ක්‍රමයක්ය කියන මතයේ සාවද්‍යතාවය සනාථ කරල පෙන්වන්න. සූත්‍ර පිටකයේ මේ වගේ සූත්‍ර සිය ගණනක් විස්තර වෙලා තියෙනවා. නිවන් මග අනුගමනය කරන කෙනාට සමථ පූර්වංගම කියන කාරණය නිවනට කොතරම් උපනිශ්‍රයක් වෙනවද කියල මේ වගේ දේශනා විමසල බලනකොට පේනවා.

**ධ්‍යාන ගැන බුදු රජාණන් වහන්සේත් උසස් විදිහට අගය කරල තියෙන බව මෙයින් පෙනී යනවා. ඒ නිසා ධ්‍යාන වැඩෙන අයට ඒ සඳහා උත්සාහ වීම නීවරණ වහා සංසිඳවගෙන විමුක්තිය සාක්ෂාත් කරගන්න උපනිශ්‍රය වෙනවා.**

වර්තමානයේ ඇතැම් දහම් දෙසන අයට ධ්‍යාන, මාර්ගඵල වෙන් කරල හඳුනගන්න බැරිව, ධ්‍යාන කියන්නෙ මාර්ගඵලම බව ඒ අයගෙ දේශනාවලින් පෙන්වන්න උත්සාහ කරනවා. ප්‍රථම ධ්‍යානය කියන්නෙ සෝවාන් ඵලය, ද්විතීය ධ්‍යානය කියන්නෙ සකෘදාගාමි ඵලය, තෘතීය ධ්‍යානය කියන්නෙ අනාගාමි ඵලය, චතුර්ථ ධ්‍යානය කියන්නෙ අරිහත් ඵලය කියල මේ ඒ අය දැහැන් තෝරන ක්‍රමයක්. ආර්ය ධ්‍යාන පිරිහෙන්නෙ නෑ කියන්නෙ මේ ක්‍රමයට මගඵල ලැබීමෙන් බවත් ඒ අය කියනවා. නමුත් කිසිම බුද්ධ දේශනාවකින් සනාථ කරන්න බැරි මේවාට කියන්නෙ හිතලු හෙවත් අත්තනෝ මත කියල.

ධ්‍යාන මාර්ගය එකක්, මාර්ගඵල තව ක්‍රමයක්. ධ්‍යාන තුලින් චිත්ත නිරෝධයත් (නිරෝධ සමාපත්තිය), මගඵල තුලින් කෙලෙස් නිරෝධයත් සිද්ධ වෙනවා. මේ ක්‍රම දෙකක් මිසක් ධ්‍යානවලට මාර්ගඵල සම්බන්ධ කරන්න බෑ. **ධ්‍යානවලින් සිද්ධ වෙන්නෙ, නීවරණ සංසිඳවගෙන මාර්ගඵල නිවන් සාක්ෂාත් කරගන්න උදව්වක් වෙන එක.** රූපාවචර ධ්‍යාන 4, මාර්ගඵල 4 විදිහට ගත්තම, අරූප සමාපත්ති 4 එකතු කරන්නෙ කොහාටද කියල මේවා ප්‍රකාශ කරන අය පෙන්වා දෙන්නෙ නෑ. ඒවා ගැන ඇහුවම, ඕවා බමුණු මත කියල ධර්මය කපල දානවා.

සම්මා සමාධිය විස්තර කරන ඇතැම් දේශනාවල, රූපාවචර ධ්‍යාන 4 සම්මා සමාධිය කියල විස්තර කරනවා. නමුත් ධ්‍යාන 4 කියන්නෙ

මාර්ගඵල කියල ගත්තම නිවන් මග සම්මා සමාධියෙන් කෙළවර වෙනවා. එතකොට සම්මා ඥාන, සම්මා විමුක්ති කියන අංග දෙක ප්‍රතික්ෂේප වෙනවා.

"අට්ඨංග සමන්නාගතා සේඛා දස හංග සමන්නාගතා අරහා" (ස. නි. 5 - 1 සේඛ සූත්‍රය - 22 පිටුව / අ. නි. 3 - අසේඛ සූත්‍රය - 214 පිටුව) අරි අටඟි මගේ අංග 8 සේඛ ප්‍රතිපදාව, අංග දහයෙන්ම යුක්ත වුනාම අරිහත්වය. මේක මෙහෙම වුනත් ඉහත වැරදි අර්ථ කථනයෙන් සම්මා ඥාන, සම්මා විමුක්ති කියන අංග දෙක ආර්ය මාර්ගයෙන් ඉවත් වෙනවා, සම්මා සමාධියෙන් ආර්ය මාර්ගය අවසන් වෙනවා.

තථාගත දහම අත්තනෝ මතවලින් පටලවා ගත්තම, බුද්ධ දේශනා සමග පරස්පර වෙන හැටි ඉහත කරුණුවලින් මැනවින් ඔප්පු වෙනවා. ඒ නිසා ධ්‍යාන, මගඵල පටලවා ගන්නෙ නැතිව, බුද්ධ වචනයට අනුකූලවම දහම් කරුණු තෝරගන්න දේශක, ශ්‍රාවක දෙපක්ෂයම දක්ෂ වෙන්න ඕන. එහෙම නොවුනොත්, ධර්මය වෙනුවට සද්ධර්ම ප්‍රතිරූපක සමාජගත වෙන එක නවත්වන්න බැරි වෙනවා.

**පෞද්ගලික මතවාද ධර්මය විදිහට කියන එක තරම් සාසනික අනතුරක් තවත් නැති තරම්.** ඒකෙන් පශ්චිම ජනතාවට සිද්ධ වෙන අවැඩත් බොහොමයි. ධර්මය යටපත් වෙලා අධර්මය ධර්මය විදිහට මතුවෙන්න හේතු වෙන්නෙ පුද්ගලික අත්තනෝ මත ධර්මය විදිහට කියන්න යෑම.

ධ්‍යාන නැතිව නිවන් පූර්ණ කරන්න බෑ කියල මතයකුත් මේ කාලෙ මතුවෙලා තියෙනවා. මේක බුද්ධ දේශනාවට කොච්චර එකඟද කියල හොයල බලන්න ඕන. ඇතැම් තැනක සම්මා සමාධිය රූපාවචර ධ්‍යාන 4 කියල තෝරල තියෙන නිසා, සම්මා සමාධිය පූර්ණ කරල සම්මා ඥාන, සම්මා විමුක්ති ලබන්න නම් සතර දැහැන් අනිවාර්යෙන් තියෙන්න ඕන බව, ධ්‍යාන නැතිව නිවන් දකින්න බැහැයි කියන අය ප්‍රකාශ කරන බව අහන්න ලැබෙනවා. සමාධියේ විවිධ ප්‍රභේද පිළිබඳව මීට පෙර පැහැදිලි කළ කරුණුවලින්, සමාධිය කියන්නෙ ධ්‍යානම කියල ගන්න බැරි බව සනාථ වෙනවා.

සම්මා සමාධියට ධ්‍යාන 4 ඇතුලත් කරල ඇතැම් දේශනාවල තිබුනට, සමාධිය පූර්ණ කර ගන්න ධ්‍යාන 4 අනිවාර්යෙන් ලබන්න ඕනද කියල බුද්ධ දේශනාවෙන් හොයල බලන්න ඕන. ම. නි. (1) - 702 පිටුවේ එන චුල්ල වේදල්ල සූත්‍රයේ, විසාඛ උපාසකතුමා සහ ධම්මදින්නා තෙරණිය අතර ඇතිවෙච්ච සාකච්ඡාවෙදි සමාධිය විස්තර කරල තියෙන්නෙ මේ විදිහට.

ආර්යාවෙනි, සමාධිය කුමක්ද, සමාධි නිමිති මොනවද, සමාධි පිරිකර කුමක්ද, සමාධි භාවනාව කවරේද?

ධම්ම දින්නා මෙහෙණිය මේ සඳහා මේ විදිහට පිළිතුරු පැහැදිලි කරනවා. විසාඛ, සිතේ ඒකාග්‍රතාවය සමාධියයි, සතර සතිපට්ඨානය සමාධි නිමිතියි, සතර සම්‍යක් ප්‍රධන් වීර්ය සමාධි පරිෂ්කාරයි. ඒ ධර්මයම සේවනය කිරීම, දියුණු කිරීම, බහුල කිරීම සමාධි භාවනාවයි.

මෙතනදි සිතේ ඒකාග්‍ර බව සමාධිය විදිහට පෙන්වා තියෙනවා. සමාධියේ ලක්ෂණය තමයි අවික්ඛේප හෙවත් නොවිසිරෙන ලක්ෂණය. සිතේ එකඟ බව රූපී අරූපී ධ්‍යාන තුලින් ලැබෙනව වගේම, විදර්ශනා සමාධිය තුලිනුත් නීවරණ සංසිඳවගෙන චිත්ත ඒකාග්‍ර බව ඇති කරගන්න පුළුවන්. අවිද්‍යා තෘෂ්ණා කියන එකතුවෙන් සිත මිදිල ආර්ය සමයට සිත ඇදී සිටින කොට (සත්තිස් බෝධිපාක්ෂික ධර්මවලට) ඒක පද නිරුක්ති අනුව සම්මා සමාධිය (සං + මා - සම + ආධි) කියල කියන්න පුළුවන්.

අනිමිත්ත සමාධිය, අප්පණිහිත සමාධිය, සුඤ්ඤත සමාධිය වශයෙන් තුන් ආකාරයකට පටිසංභිදාමග්ග පාළියේ විමෝක්ඛ කතා යටතේ සඳහන් කරල තියෙනවා. අනිච්ච වශයෙන් ගන්නා ඥානය අනිමිත්ත සමාධිය විදිහටත්, දුක්ඛ වශයෙන් ගන්නා ඥානය අප්පණිහිත සමාධිය විදිහටත්, අසාර වශයෙන් ගන්නා ඥානය සුඤ්ඤත සමාධිය විදිහටත් විස්තර වෙනවා. අනිච්ච, දුක්ඛ, අනත්ත වශයෙන් ඥානය පහල වෙනකොට ඒකෙ තියෙන්නෙ විදර්ශනා සමාධිය. (සබ්බේ සංඛාරා අනිච්චාති යදා පඤ්ඤාය පස්සති... ආදී ගාථාවල, සියලු සංඛාර අනිච්ච, දුක්ඛ වශයෙන් වගේම සියලු ධර්ම අනත්ත විදිහට දැකල දුකෙහි නොබැඳීම නිවන් මග බව විස්තර කරල තියෙනවා.)

අනිමිත්ත සමාධිය නිවන් මගකි. සුඤ්ඤත සමාධිය නිවන් මගකි. අප්පණිහිත සමාධිය නිවන් මගකි. ස.නි. 4 - දුතීය අසංඛත වග්ගය - 642 පිටුව

මහණෙනි, සමාධිය වඩන්න සමාහිත වූ තැනැත්තා චතුරාර්ය සත්‍යය තත් වූ පරිදි දැනගන්නවා. (ස. නි. 5 - 2 - සමාධි වග්ග - සමාධි සූත්‍රය 260 පිටුව) ස. නි. 4 ජල වර්ගයේ, 760 පිටුවේ, සමාධිය වඩන භික්ෂුව අධ්‍යාත්මික බාහිර ආයතන තතු සේ දැනගන්නා බව සඳහන් වෙනවා.

පටිසංභිදා මග්ග පාළිය (1) 94 පිටුවේ එන සමාධි භාවනාමය ඥාන විග්‍රහයේ, සමාධි ස්වභාවයන් අර්ථ 25 කින් විස්තර කරල තියෙනවා. වැළඳ ගැනීම, පරිවාර, සම්පූර්ණ, එක් අරමුණක්, නොවිසිර යාම, නොදිවීම, නොකැළඹීම, කම්පා නොවීම, විශේෂයෙන් මිදීම, එක් අරමුණෙහි සිටීම, සමව සොයා යාම, විසමව නොසොයා යාම, සමව සොයන ලද බව, විසමව නොසොයන ලද බව, සමව ගන්නා බව, විසමව නොගන්නා බව, සමව ගන්නා ලද බව, විසමව නොගන්නා ලද බව, සමව පිළිපැදීම, විසමව නොපිළිපැදීම, සමව පිළිපන් බව, විසමව නොපිළිපන් බව, සමව සිතන බව, විසමව නොසිතන බව, සම වූ හිත සුව ඇති බව යන අර්ථයෙන් සමාධි නම් වෙනවා. ඒක දැනීම් අර්ථයෙන් ඥාන නම් වෙනවා. ප්‍රකාරය දැනීම් අර්ථයෙන් පඤ්ඤා වෙනවා. ඒ නිසා සංවරව සමාධි වැඩීමේ ප්‍රඥාව සමාධි භාවනාමය ඥානය කියල කියනවා.

සමාධියෙන් පිරිසිදු බව ඇතිවෙන නිසා ආශ්‍රවයන් (කාමාශ්‍රව, භවාශ්‍රව, දිට්ඨාශ්‍රව, අවිජ්ජාශ්‍රව) ක්ෂය කිරීමේ ප්‍රඥාව ආනන්තරික සමාධි ඥානය වෙන්නෙ කොහොමද කියල පටි. සං. ම. ප්‍ර. (1) 181 පිටුවේ එන ආනන්තරික සමාධි ඥාන විග්‍රහයේ මේ විදිහට විස්තර වෙනවා. කාමයන්ගෙන් වෙන්වීමේ සිතේ එකඟ බව සමාධියයි, ඒ සමාධියෙන් මාර්ග ඥානය (සෝවාන්, සකෘදාගාමි, අනාගාමි, අරිහත් මාර්ග) උපදිනවා. ඒ ඥානය හේතු කරගෙන ආශ්‍රව ක්ෂය වෙනවා. සමථය පළමුව උපදිනවා. ඥානය පසුව උපදිනවා. මේ විදිහට සමාධියේ පිරිසිදු බව හේතු කරගෙන කෙළෙස් පහ කිරීමේ ප්‍රඥාව ආනන්තරික සමාධි ඥානය විදිහට විස්තර වෙනවා.

පටිසංභිදා මග්ග පාළිය (1) 508 පිටුවේ එන මග්ග කතා විස්තරයේ, ආර්ය අෂ්ටාංගික මාර්ගය සහිතව සම්මා සමාධිය මේ ආකාරයට විවරණය කරල තියෙනවා. දර්ශන මාර්ගය සම්මා දිට්ඨියයි. අරමුණට නැගීමේ මාර්ගය

## නිවන් පූර්ණ කිරීමට ධ්‍යාන වැඩීම අත්‍යවශ්‍යද?

සම්මා සංකප්පයයි. වැළඳගන්නා මාර්ගය සම්මා වාචාවයි. මනාව පිහිටීමේ මාර්ගය සම්මා කම්මන්තයයි. පිරිසිදු කිරීමේ මාර්ගය සම්මා ආජීවයයි. සිත ඔසවා තබන මාර්ගය සම්මා වායාමයයි. අරමුණට එළඹීමේ මාර්ගය සම්මා සතියයි. සිත විසිර නොයන මාර්ගය සම්මා සමාධියයි. මේ බුද්ධ දේශනා අනුව සමාධිය ධ්‍යානවලින් යුක්ත වෙන්න ඕන කියල එකක් නැති බව පැහැදිලි වෙනවා.

කෙනෙක් ධර්මය ශ්‍රවණය කරන මොහොත පවා නීවරණවලින් තොර අවස්ථාවක්. සමථ කියපු පමණින් ඒක ධ්‍යානවලින් යුක්තමයි කියල ගන්න බෑ. "පච්චනීක ධම්මේ සමේතීති සමථෝ" නීවරණ ධර්මයන් සංසිඳවන අර්ථයෙන් සමථය කියල හඳුන්වනවා. ධර්මය ශ්‍රවණය කරමින් ඉන්න අවස්ථාවල ඇතැමුන් අරිහත් වෙන්නෙ, අනාගාමි වෙන්නෙ, සකෘදාගාමි වෙන්නෙ, සෝවාන් වෙන්නෙ ඒ අවස්ථාව විනීවරණ (නීවරණයෙන් තොර) මොහොතක් නිසා.

ඕනම මාර්ග ඵලයක් ලබනකොට විනීවරණ මොහොතේ ධ්‍යාන උපචාරයේ ඉන්නෙ. (ආසන්නයේ හැසිරීම/ධ්‍යානයට මෙහා තියෙන තත්ත්වය) අසුරු සැනක් මෙත් සිතක් වඩන තැනැත්තා පවා ඒ මොහොත ධ්‍යානයෙන් හිස් නොවූ අවස්ථාවක ඉන්න බව සඳහන් වෙන්නෙ ඒ නිසා. (අච්ඡරා සංඝාත මත්තම්පි මෙත්තං චිත්තං භාවේති තතෝ මහප්ඵලතරං අරිත්තජ්ඣානෝ විහරති සත්ථු සාසන කරෝ... (අං. නි. 1 - 80 පිටුව අච්ඡරා සංඝාත සූත්‍රය)

මාර්ගඵලය ලබන මොහොතේ ධ්‍යාන උපචාරය ඇති වුනාට, ඒක මාර්ග ඵලය ලබනවත් එක්කම පිහිටා සිටින්නෙ නෑ. අර්පනා මට්ටමට (ධ්‍යානයේ පිහිටීම) ධ්‍යානය පිහිටා සිටින්න නම්, ඒක වඩල වශී භාවයට පත්වෙන්න ඕන. එතකොට තමයි ධ්‍යානය ස්ථාවර වෙන්නෙ.

**සෝවාන්, සකෘදාගාමී ඵලවලට පත්වෙනකොට ධ්‍යාන උපචාරයෙන් මගඵලය ලැබුනට, ඒක පිහිටා නොසිටින නිසයි කාම ලෝකයේ උපදින සෝවාන්, සකෘදාගාමී අය ඉන්නෙ. හැම මගඵල ලාභියෙකුටම ධ්‍යාන තියෙනව නම්, ඒ අය කාම සුගතියේ උපදින්න විදිහක් නෑ. අනිවාර්යෙන් බ්‍රහ්ම ලෝකයේ උපදින්න ඕන.**

**සෝවාන්, සකෘදාගාමි මගඵල ලබන ආර්යන්ටත් ඒ මට්ටමට සම්මා සමාධිය වැඩිල තියෙන්නෙ. එතකොට සමාධි කියන්නෙ ධ්‍යාන 4 ම කියල ගත්තොත්, සෝවාන් සකෘදාගාමි දෙන්නටත් අවම වශයෙන් ප්‍රථම ධ්‍යානයවත් අනිවාර්යෙන් තියෙන්න ඕන. එහෙම තියෙනව නම් කාම සුගතියේ උපදින සෝවාන්, සකෘදාගාමි ආර්යන් ඉන්න විදිහක් නෑ.**

ස. නි. දේවතා සංයුක්තයේ එන ජේතවන සූත්‍රයේ, සෝතාපන්න වෙලා හිටපු අනාථපිණ්ඩික සිටුතුමා මරණින් මතු දේවත්වයට ගිහින් බුදුන් වහන්සේ වෙතට ඇවිත්, තථාගතයන් වහන්සේ ඇතුළු භික්ෂු සංඝයා ජේතවනාරාමයේ වැඩ වාසය කරනව දකින කොට මට හරි ප්‍රීතියක් දැනෙනව කියල ප්‍රකාශ කරල තියෙනවා.

සෝතාපන්න වෙලා හිටපු බිම්බිසාර රජතුමා, ජනවසභ සූත්‍රයට අනුව චාතුර්මහාරාජික දේවතාවෙක් වුන බව සඳහන් වෙනවා. අ. නි. 6 - මිගසාලා සූත්‍රයේ 246 පිටුවේ, පුරාණ නම් තම පියාත්, ඉසිදන්ත නම් සුළු පියාත් සකෘදාගාමීව ඉඳල මරණින් පසු තුසිත දෙව්ලොව ඉපදුන බවත්, ඒ ගැන අහපු මිගසාලා උපාසිකාවට තථාගතයන් වහන්සේම දේශනා කරල තියෙනවා. **මේ අනුව ධ්‍යාන නැති සියලු සෝවාන්, සකෘදාගාමින් දේව, මනුස්ස දෙගතියේ ඉපදෙන බව ඔප්පු වෙනවා.**

ඒ වගේම සකෘදාගාමි පුද්ගලයන් පස් දෙනෙක් පිළිබඳව අට්ඨ කතාවක මේ විදිහට සඳහන් වෙනවා.

1. මනුස්ස ලෝකෙදි සකෘදාගාමි වෙලා එහිදිම පිරිනිවන් පාන කෙනා

2. දේව, බ්‍රහ්ම තලවල ඉඳල සකෘදාගාමි වෙලා එහිදිම පිරිනිවන් පාන කෙනා

3. මනුස්ස ලෝකෙදි සකෘදාගාමි වෙලා දේව, බ්‍රහ්ම තලයක ඉපදිලා එහිදී පිරිනිවන් පාන කෙනා (සකෘදාගාමි කෙනෙක් මේ විදිහට දෙව් ලොව ඉපදුනොත් ඒ දේව තලයෙදි පිරිනිවන් නොපා ඉහල බඹ තලවලත් ඉපදිලා රහත් ඵලය පූර්ණ කරල එහිදී තමයි පිරිනිවන් පාන්නෙ.)

4. දෙව් ලොවදී සකෘදාගාමි වෙලා නැවත මනුස්ස ලෝකයට ඇවිත් රහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පාන කෙනා

5. මනුස්ස ලෝකෙදි සකෘදාගාමි වෙලා නැවත දෙව් ලොව ඉපදිලා එහිදී ඉතිරි මග ඵල පූර්ණ නොකර නැවතත් මනුස්ස ලෝකයට ඇවිත් රහත් ඵලය පූර්ණ කරල පිරිනිවන් පාන කෙනා

පංච උපාදානස්කන්ධය අනිච්ච, දුක්ඛ, අනත්ත විදිහට වඩල සෝවාන්, සකෘදාගාමි වෙන්න පුළුවන් නම්, අනාගාමි වෙන්න කරන්න තියෙන්නෙත් ඒකමයි. අරිහත්වයට පත්වෙන්නෙත් ඒ ක්‍රමයෙන්මයි. අනාගාමි කෙනෙක් සුද්ධාවාස බඹ ලොව ඉපදෙන්නෙ ඒ ආර්ය උතුමන්ටම අයිති තැන නිසාත් කාමරාග, පටිඝ ප්‍රහීණ කරල තියෙන නිසාත්. මේ අනුව **න්‍යායාත්මකව බලනකොට ධ්‍යාන නැති අනාගාමින් සහ අරිහතුන් වහන්සේලාත් ඉන්න** බව සනාථ වෙනවා. මේ කාරණය ඔප්පු කරන්න පුළුවන් ත්‍රිපිටක සාක්ෂි මේ ලිපියේ ඉදිරි කරුණුවලදි විස්තර වෙනවා.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**

# මොනවද මේ සළායතන ?



**පසුගිය කලාපයෙන් - නිවන් දකින විවිධ ක්‍රමවේද**

ඇස,කන,නාසය,දිව,ශරීරය,මනස අභ්‍යන්තර ආයතන වෙන්නෙ කොහොමද? රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ (පොට්ඨබ්බ), ධර්ම කියන මේවා බාහිර ආයතන වෙන්නෙ කොහොමද? ආයතන නොවෙන්නෙ කොහොමද?

ලෝකය පිළිබඳව දැනගන්න, ලෝක ආස්වාදය විඳින්න, ලෝකය පිළිබඳව දේවල් රැස් කරන්න, ඒවා පිළිබඳව අනාගත බලාපොරොත්තු ඇති කරගන්න නැමී පවතින ක්‍රියාදාමයක් දරාගෙන ලෝක සත්ත්වයෝ සංසාරයේ සැරි සරනවා. මේ සියල්ල සිද්ධ කරන්නෙ නාම රූප කියන ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති කියන මේවා පිළිබඳව ඇලීමෙන් බැඳීමෙන්, ඇසුරු කිරීමෙන්, ස්පර්ශ කිරීමෙන්. ඒවායින් ප්‍රිය ස්වභාවයක් මධුර ස්වභාවයක් පිළිබඳව ආස්වාදයක බැඳෙන නිසා, හැම තිස්සෙම මොනවහරි ඇසුරක් බලාපොරොත්තු වෙනවා. ඒවා ලබන්නෙ ස්පර්ශයෙන්. මේ ස්පර්ශය සළායතනයන්ගෙන් තොරව කිසි විටෙකත් ලබන්න බෑ. ඒ ලැබීමත්, ඒ ඒ ඉන්ද්‍රියන්ට ගෝචර වන දේ ඒ ඒ ඉන්ද්‍රියන්ගෙන්ම ගන්නවා. උදාහරණ විදිහට ඇහැට ගෝචර වන රූප ඇහෙන් ගන්නවා.

ස්පර්ශයන් ගන්නෙ කොහොමද? රූප ස්පර්ශයක් අවශ්‍ය නම් ඇසත්, ආලෝකයත්, රූප ධාතූන්ගේ ඒකරාශි වීමකුත් තිබිය යුතුයි. ඇස නැත්නම්, ආලෝකය නැත්නම්, රූපස්කන්ධයක් නැත්නම් පෙනීම් මාත්‍රයක් ලබන්න බෑ. මේවායින් එකක් හෝ අඩු නම් ඒ ස්වභාවයේ පෙනීමක් ලබන්න බෑ. තද විදිහට හෝ සියුම් විදිහට හෝ මිනිස් ඇසකට පෙනෙන විදිහට හෝ නොපෙනෙන විදිහට හෝ කොහොම හරි මේවා ඇති තැනම පෙනීම් මාත්‍ර වෙනවා. ඒ පෙනීම් මාත්‍රය ස්පර්ශ මාත්‍රයකින් මනෝ ධාතුව ඇසුරෙන් ලැබෙනවා. මනෝ ධාතුව රූප පරමාණුවක් නිශ්‍රය කරගෙන ඉඳල, මේ ස්පර්ශ මාත්‍රය දැන ගනිමින් රටාව අරමුණු කරල පෙනීම් සම්මත වූ ආකාරයක් දකිනවා.

මනස කරන මේ කටයුත්ත යම් ඇසුරකින් ලබනවද, ඒකට ආයතන කියල කියනවා. යම් ස්වභාවයක් ආයතනයකින් කරනවද, ඒක ඒ නමින් හඳුන්වනවා. නිෂ්පාදනාගාරයට ආයතනය කියල කියනවා. චක්ඛායතනය, සෝතායතනය, ඝානායතනය... ආදී වශයෙන්.

මේ චක්ඛු, සෝත, ඝාන... ආදිය හරියට කූඩු වගේ. ශරීරයත් ස්පර්ශය ලබන වෙලාවට ආයතනයක්. නැත්නම් කූඩුවක්. එහෙමත් නැත්නම් ගෙයකටත් සමාන කරන්න පුළුවන්. ශරීර කූඩුව කියන වචනයත් මේ නිසා ඇති වෙලා තියෙනවා. කූඩුවක් හැර යන ලෙස කය දමා යන ආකාරය උපමා විදිහටත් අරගෙන තියෙනවා. අනේක ජාති සංසාරං සද්ධා විස්සං අනිබ්බිසං ගහකාරකං ගවේසන්තෝ දුක්ඛා ජාති පුනප්පුනං... ආදී වශයෙන් නොයෙක් ජාතීන්ගේ සැරිසරමින් ගෙය හදන්නා වූ වඩුවා සොයමින්, සැරිසැරීම්... ආදී වශයෙන් ලොවුතුරා බුද්ධත්වයට පත් වූ අවස්ථාවෙදි උන්වහන්සේ උදාන වාක්‍ය නැගූ තැනත් ශරීරය ගෙයකට උපමා කරල තියෙනවා.

මේකෙන් පේන්නෙ **ඇස, කන, නාසය, දිව, ශරීරය... ආදිය උපතින්ම ආයතන නෙවෙයි, පරිහරණයට හෙවත් ස්පර්ශය සඳහා ගැනීමෙන් ආයතන විදිහට සළකන බව.** යම් කඩ සාප්පුවකින් කූඩුවක් ගෙනාව නම් ඒක නිකම්ම කූඩුවක් විතරයි. ඒකෙ මයිනෙක් දැම්ම නම් මයින් කූඩුවක් වෙනවා, ගිරවෙක් දැම්ම නම් ගිරා කූඩුවක්. බල්ලෙක් ඇති කළොත් බලු කූඩුවක්. මේ කිසිවෙක් ඇති නොකළොත් නිකම්ම නිකං කූඩුවක් විතරයි.

සතාගේ වාසය අනුව කූඩුවට නම තිව්ව වගේ, ඇසීම ඇසුරු කරන කූඩුව සෝතායතනය වෙනවා. පිටතින් ශබ්දය අරගෙන ඇසුරු කරනකොට ශබ්ද ආයතනය වෙනවා. පෙනීම ඇසුරු කරනකොට චක්ඛායතනය වෙනවා. පිටතින් රූප කලාප ඇසුරු කරනකොට රූපායතනය වෙනවා. මේ විදිහට ඇසුර තියෙන තැන ආයතන වෙනවා. නැති තැන ආයතන නොවෙනවා.

නාම රූප හෙවත් මේ ස්පර්ශ සඳහා ඇසුරු කරන ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති කියන මේවා ඇලීම් බැඳීම් සමග යෙදෙන්නෙ නැත්නම් ඒ ආයතනය භව ගමනට ආයතන සකස් කරන්නෙ නෑ. එතකොට පෙර භවයේ සකස් කරපු ගෙය වගේ, ආයතනවලට හදපු කූඩුව (ශරීර කූඩුව) ඒ පහළ වෙච්ච භවය තියෙන කල් පමණක් පවතිනවා. ඒක යම් දවසක කෙළවර වෙනවද, එදාට අනන්ත සංසාරයේ පටන් පහළ කරගෙන ආ ෂඩ් ඉන්ද්‍රියන්ම කෙළවර වෙනවා.

නාම රූප නිරෝධ කරන්න නම් නාම රූපවල ස්වභාවය හොඳින් හඳුනාගත යුතුයි. හිත නාමයයි, කය රූපයයි කියල හිතුවට මේක සිද්ධ වෙන්නෙ නෑ. එහෙනම් කොහොමද බලන්න ඕන?

නාම රූප ගැන හරියාකාරව නිසි තතු දකින්නෙ නැත්නම්, ප්‍රියජනක වූ මධුර වූ ආස්වාදජනක වූ අවස්ථා විද්‍යමාන වෙනකොට ඒවායේ හිත ඇලෙනවා, බැඳෙනවා. ඉදිරියටත් පවත්වාගෙන යමින් වින්දනයට බලාපොරොත්තු ඇති කරනවා. එතකොට ඇස, කන... ආදී ඉන්ද්‍රියන් ආයතන වශයෙන් පරිහරණය කරමින් ඉදිරියට ගෙනියන්න බලාපොරොත්තු ඇති

වෙනවා. නාමරූප ප්‍රත්‍යයෙන් වන සළායතන පහළ වීම නවතින්නෙ නැතිව සිද්ධ වෙනවා.

පැවැත්වීමේ බලාපොරොත්තු ඇති නිසාම ඇස, කන... ආදී ප්‍රඥප්ති පිළිබඳව නොනැසී පවතීවා, ජරා නොවී පවතීවා, වැහැරෙන්නෙ නැතිව පවතීවා කියන හැඟීම පහල වෙනවා. නමුත් ඒ විදිහට පවතින ධර්මතාවයක් නෑ. **යමක් පහල වුනාද ඒකට ජරාව, වැහැරීම, මරණය උරුම වීම සිද්ධාන්තයක්. ඒ සිද්ධාන්තය ගැන මොහොතක්වත් හිතන්න පවා අකමැති සත්ත්වයෝ, ඒ ස්වභාවය එසේ නොවී පවත්වාගෙන යන්න උත්සාහ කරනවා, වෙහෙසෙනවා.** මහා සැඩ පහරකට, මහා ගංවතුරකට අහුවෙච්ච කටු මැටි පැළක් වැනසිලා යන එක වළක්වන්න බැරුවා වගේ, ලෝක ධර්මතාවය වන, මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාශ වීම උරුම වූ, ඒ ධර්මතාවයේ වහළෙක් වූ ගොදුරක් වූ නාම රූප ධර්ම ඒකාන්තයෙන්ම වැනසිලා යනවා. සළායතන සහ ආයතන සඳහා කුඩුව වූ ශරීරයත් වැනසිලා යනවා.

යම් තාක් නාම රූප ධර්මයෝ විද්‍යමාන වෙනවද, ඒ සියල්ල අනිත්‍ය නිසාම විද්‍යමාන වෙනවා. අනිත්‍ය බව නැති, විපරිනාම බව නැති තැනක කිසිම නාම රූප ධර්මයක් විද්‍යමාන වෙන්නෙ නෑ. උපමාවක් විදිහට ගහක් අරගෙන බලමු. ඒක ඇහැට පේනවා. පේන්නෙ කොහොමද? ඇහැ තියෙනව නම් ආලෝකය ගහට වැදිල ඒකෙන් පරාවර්තනය වන ආලෝක ධාරා ඇස කරා ඇදෙනවා. ආකාර රටාව මනසිකාරයෙන් සකස් කරල ගහක රූප සටහනක් ගන්නවා. මේ ආකාරය ඇස තුලින් අරගෙන බැලුවෙ ගහ තිබුන නිසා. මහ පොළොවට ගහ කොහෙන්ද ?

ඒ ඒ ස්වභාවයන් වැනසෙමින් නව ආකාර හට ගනිමින්, ඒවත් වැනසෙමින් නව ආකාර හට ගනිමින් සිද්ධ වෙන අනිත්‍ය වූ විපරිනාම වූ ක්‍රියා රටාව නැත්නම් ගහක් දකින්න ලැබෙන්නෙ නෑ. ඒ අනිත්‍ය ක්‍රියාවලිය නිසාම විපරිනාම ක්‍රියාවලිය නිසාම ගහ දකින්න ලැබෙනවා. මේ ගැන විමසල බලමු.

ගහ හටගත්තෙ ඇටයකින්. අපි ඒ ඇටයේ පටන් අරගෙන විමසල බලමු. ඇටය නිත්‍ය වුනා නම් එසේම තිබිය යුතුයි. නමුත් වෙනස්වීමක්, විපරිනාමයක් ඇති නිසාම ඇටය කොන්ඩි වුනා. කොයි මොහොතක හෝ නිත්‍ය වුනා නම් ඊට පසු වෙනසක් වෙන්න බෑ. විපරිනාමයක් වෙන්නෙ නැත්නම් තිබිච්ච තත්ත්වයෙන් වෙනස් වෙලා නව ආකාරයක් දකින්න බෑ. අනිත්‍ය නිසාම තිබිච්ච තත්ත්වය වෙනස් වුනා. විපරිනාම නිසාම කොන්ඩි වෙච්ච ඇටය පියලි දෙකක් බවට පත් වුනා. ඒ අවස්ථාවේ නිත්‍ය වුනා නම් පියලි දෙකේ පැළය එසේම තිබිය යුතුයි. විපරිනාමයක් නැත්නම් ඒ පැළයේ වැඩීමක් පේන්නෙ නෑ. අනිත්‍ය නිසාම, විපරිනාම නිසාම පියලි දෙකේ පැළය වැඩුනා. මේ රටාව ගහ වැඩිල පූර්ණ වෙනතුරුත්, ඉන්පසු ගහ මැරෙන තුරුත්, මැරිල සහමුලින්ම ගහ කියන සම්මතය හෝ ගහේ කොටස් කියන සම්මතය හෝ සහමුලින්ම අවිද්‍යමාන වෙනතුරුත් සිද්ධ වෙනවා. ඉන් පසුව ගහ හැදුන සතර මහා භූත කොටසුත් අනිත්‍ය බව නිසාම විපරිනාම නිසාම මේ ක්‍රියාවලියට ගොදුරු වෙලා ඒ ඒ ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති නිපදවනවා.

මේ ගහ වගේම සියලුම සත්ත්ව, පුද්ගල, ද්‍රව්‍ය, වස්තු පිළිබඳව මේ අනිත්‍ය වූ විපරිනාම වූ රටාව ඇති නිසාම ලෝකය තුල ආකාර පේනවා, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති හෙවත් නාම රූප පේනවා.

මේ නාම රූප සුදුසු විදිහට කාමයට හේතුකාරක වෙනව නම් කාම භවයත්, රූප ස්වභාවයට හේතු කාරක වෙනව නම් රූප භවයත්, අරූප ස්වභාවයට හේතු කාරක වෙනව නම් අරූප භවයත් ඇති කිරීම පටිච්ච සමුප්පාද ධර්ම නියාමය අනුව සිද්ධ වෙනවා. යමෙක් මෙබඳු නාම රූප ඇසුරු කළොත් කාම භවය වෙනව කියල දන්නවද, මෙබඳු නාම රූප ඇසුරු කළොත් රූප භවය වෙනව කියල දන්නවද, මෙබඳු නාම ඇසුරු කළොත් අරූප භවය වෙනව කියල දන්නවද, ඔහු භවය දන්නවා, භවයට හේතුවත් දන්නවා.

යමෙක් මේ කාමුක නාම රූප ඇසුර නොකළොත් කාම භවය වෙන්නෙ නෑ කියල දන්නවද, මේ මේ රූපාවචර නාම රූප ඇසුරු නොකළොත් රූප භවය වෙන්නෙ නෑ කියල දන්නවද, මේ අරූපාවචර නාම ඇසුරු නොකළොත් අරූප භවය වෙන්නෙ නෑ කියල දන්නවද, මේ විදිහට කාම භවයට හේතු වෙන නාම රූපත්, රූප භවයට හේතු වෙන නාම රූපත්, අරූප භවයට හේතු වෙන නාමත් දැනගන්නවා. එහෙම දැනගෙන ඒවා හිතේ බැසගත්ත නිසාම පහල වෙනවා, අනිච්ච බව, විපරිනාමික බව, දුකට හේතු බව, නිසරු බව නොදැන හිටපු නිසා වූ ඇලීම බැඳීම නිසාම පහල වෙනව කියල දන්නවද, හිතේ බැස නොගත්ත නම් පහල වෙන්නෙ නෑ, අනිච්ච බව, විපරිනාම බව, දුකට හේතු බව, වැනසෙන බව, නිසරු බව දන්නව නම්, දකිනව නම්, කළකිරෙනව නම්, අත්හැරිය නම්, මිදුන නම් පහල වෙන්නෙ නෑ කියල දන්නවද, ඒ පුද්ගලයා නාම රූප නිරෝධයත් දන්නවා, නාම රූප නිරෝධ ගාමිණී මාර්ගයත් දන්නවා. මේකත් නිවන් මගක්. රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය වෙන නිසා ඒකායන මාර්ගයක්. පටිච්ච සමුප්පාද සහ නිරෝධ මාර්ග රටාවට එකඟ නිසා ඒකාන්ත මාර්ග ඵල ලබන මගක්.

“සළායතන ප්‍රත්‍යයෙන් ස්පර්ශ වේ, සළායතන නිරෝධයෙන් ස්පර්ශ නිරෝධ වේ.” පැවැත්ම පිළිබඳව ප්‍රියමනාප මධුර බව හැඟෙන කොට පැවැත්මේ ආදීනව පේන්නෙ නැති නිසා ඇලෙනවා බැඳෙනවා. රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ දැන හැඳින ගන්න ආසා කරනවා. ඒවායේ බැඳිල අනාගත බලාපොරොත්තු තියා ගන්නවා. මේ රූප, ශබ්ද, ගන්ධ... ආදිය දැන ගන්නා ආකාර, ලිංග, නිමිති... ආදී නාම රූප මගින් දැනීම් හැඳිනීම් ලබල ඒවාට ආසාවෙන් බැඳෙනවා. මේවා හොයන නිසා, ස්පර්ශයෙන් තොරව නොලැබෙන නිසා ඊට උනන්දු වෙනවා.

වී සහල් උවමනා නිසා ගොවියා කුඹුරේ වැඩ කටයුතු වෙහෙස නොබලා ආසාවෙන් කරනව වගෙයි, නාම රූපයන්ගේ ආස්වාදයට කැමති නිසා ඇස, කන, නාසය... ආදී වස්තුවල ස්පර්ශ බලාපොරොත්තුවෙන් හසුරුවනවා. ස්පර්ශවලින් වින්දනය වෙනවා. ස්පර්ශ ලබන්න ආයතන හදාගෙන ඒවායේ හැසිරෙන්න ඕන. ආයතන පහක් සතර මහා භූත ඇසුරු කරලත්, මන ආයතනය ධර්ම ඇසුරු කරලත් ලැබිය යුතු නිසා ඒ සඳහා චක්ඛු වස්තු, සෝත වස්තු, ඝාන වස්තු, ජිව්හා වස්තු, කාය වස්තු, හෘදය වස්තු ඇසුරු කරන්න සිද්ධ වෙනවා. භව ශක්තියෙන් අනුරූපව වස්තු සකස් කරල සුදුසු පරිදි ඒ වස්තු සඳහා මාර්ග සකස් කරනවා. ඒ නිසා සියුම්ව හෝ ඝනව හෝ ලොකු කුඩා වශයෙන් හෝ ජාති වශයෙන් හෝ අභ්‍යන්තර ආයතන කුඩුත්, බාහිර ආයතන

වූ ලෝකයත් භව ශක්තියෙන් පහල කරනවා. පහල කළාම ගොවියාගේ වතු විදිහට වස්තු හෙවත් වතු හදා ගන්නවා. ඇලීම බැඳීම යම් ආකාරද, සතර මහා භූත රූප භව ශක්තියෙන් ඇලිල බැඳිල අනුකූලව අභ්‍යන්තර වූ නාම රූප සහ බාහිර වූ නාම රූප සඳහා ධාතු මූලයෝ හැඩගස්වනවා. මේ විදිහට ස්පර්ශ මාධ්‍යය සකස් වෙනවා.

යමක් භව ශක්තියෙන් සකස් වුන නිසා ඒ සියල්ල සංඛත හෙවත් සකස් කළ ගණයට වැටෙනවා. අනිත්‍ය බවත් විපරිනාම බවත් නැතිව කිසිම හැඩ ගැසීමක් කරන්න බැරි නිසා, ඒ හැම දෙයකටම අනිත්‍ය බව විපරිනාම බව උරුම වෙනවා. ඒ නිසා ඒ **භව ශක්තියෙන් හදපු සියල්ල මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් විනාසයට පත්වීම නමැති ලෝක ධර්මතාවයේ වහලුන් විදිහටම, ගොදුරු විදිහටම පහල වෙලා වහල් බවටම ගොදුරු බවටම පත් වෙලා වැනසිලා යනවා. නමුත් ඇලීම බැඳීම තියෙන නිසා ලෝක ධර්මතාවයට විරුද්ධව රකින්න උත්සාහ කරනවා. ප්‍රිය මධුර ස්පර්ශ එනකොට රැකගන්න මහත් ආයාසයක් දරනවා. ඒවාට මාර්ග හොයනවා. නමුත් උරුම ස්වභාවය අංශු මාත්‍රයක් හෝ වෙනස් කරන්න බෑ.**

තරුණියට, තරුණයාට ආලය කරනවා. තරුණ බව රැකගන්න උත්සාහ කරනවා. තරුණ බව විද්‍යමාන වුනේ අනිත්‍ය නිසාම, විපරිනාම ධර්ම නිසාම බව මෙනෙහි කරන්නෙ නෑ. අහලකට ළං වෙන්න බැරි මහා ගංවතුර සැඩ පහරකට තමන් කොච්චර ආස කරන දෙයක් අහුවෙලා තමන්ට පෙනෙන දර්ශන පථය හරහා ගහගෙන ගියත්, කුඩා දරුවෙකුට හෝ දුර්වලයෙකුට හෝ ඒ සඳහා කරන්න පුළුවන් දෙයක් නැතිවා වගෙයි, අනිත්‍ය බවේ විපරිනාම බවේ සැඩ පහරට අහුවෙලා දිවෙන ප්‍රියමනාප අවස්ථා දකින නමුත් නවත්වන්න පුළුවන් කාටද? එබඳු ප්‍රියමනාප මධුර ස්වභාවය ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් මගින් පහල කරගත් ආයතනවලින් දෘෂ්ටි ස්පර්ශය ලබල, වින්දනයෙන් සුව සිහින මවමින්, අනිත්‍ය වූ විපරිනාම වූ සැඩ පහරට අහුවෙලා ගහගෙන ගිහින් නොපෙනී යනකොට දාහයට පත්වෙනවා, දැවෙනවා, තැවෙනවා, ශෝක කරනවා, අඬනවා, වැළපෙනවා.

යමෙක් මේ ස්පර්ශය මේ විදිහ බව දන්නවද, හටගන්නා හේතුව මේ විදිහට දන්නවද, ආයතන හය ඇසුරු කරන්නෙ නැත්නම් ස්පර්ශයන් නොවන බව දන්නවද, ඇසුරු නොකිරීම සිද්ධ වෙන්න නම් මේ විදිහට යථාර්ථය මෙනෙහි කරල දැනීම දැකීම ඇති වෙලා, කලකිරෙන කල් අත්හැරෙන කල්, නොඇලෙන කල් මිදෙන කල්, සත්‍ය වූ ධර්මය මෙනෙහි කළ යුතු බව දන්නවද, ඒ පුද්ගලයා ඒ විදිහට හරි මග පිහිටල හිත වඩනවා.

එතකොට ස්පර්ශයන් කෙරෙහි කලකිරෙනවා. කලකිරෙන කොට අත්හැරෙනවා. අත්හැරෙන කොට ඇලෙන්නෙ නැති වෙනවා. ඇලෙන්නෙ නැති වෙනකොට මිදෙනවා. මිදුනම පරම සත්‍ය වූ විද්‍යානුකූල වූ සදා නොවෙනස් ධර්මතාවය හරි හැටි අවබෝධ කළ ප්‍රත්‍යක්ෂ කළ නිසා, නැවත කිසි කාලයක ඵලය නොවෙනස් වන බවත් අනුශය සිඳුන බවත් දන්නවා. අත්හැරිල, නොඇලී මිදී ගිය නිසා නැවත හටගැනීම්වලට හේතු නැති බවත්, පවතින කය පෙර කර්ම ශක්තියේ නිපදවීමක් නිසා ඒකට ගෝචර වෙන ස්පර්ශ කෙරෙහි කළ යුත්තක් නැති නිසාත්, කම්පා වෙලා කළ යුතු දෙයක් නැති බව වැටහෙන නිසාත්, අටලෝ දහමෙන් කිසිම කම්පාවක් ඇති වෙන්නෙ නෑ. යම් දවසක ඒ අත්බැව කෙළවර කරන මොහොතක් එනවද මතු පහළ වෙන්න හේතු නෑ. ඒක ප්‍රත්‍යක්ෂයි. මේකත් නිවන් මගක්. පටිච්ච සමුප්පාද නිරෝධ මාර්ගයට අනුලෝම වෙනවා. රාගක්ෂය, ද්වේශක්ෂය, මෝහක්ෂය වන නිසා ඒකායන මාර්ගයක්. ඒකාන්තයෙන් අනුගමනය කිරීමෙන් මගඵල ලබල නිවන් පූර්ණ කරන්න පුළුවන් වෙනවා.

ස්පර්ශ ප්‍රත්‍යයෙන් වේදනාව වෙනවා, ස්පර්ශ නිරෝධයෙන් වේදනාව නොවෙනවා. ඒ කියන්නෙ නිරෝධ වෙනවා. යම් වින්දනයක් පහළ වෙනවද, ඒක ස්පර්ශයකින් සිද්ධ වෙනව මිසක් වෙනත් මාර්ගයකින් සිද්ධ වෙන්නෙ නෑ. ඇසට යම් වස්තුවකින් පරාවර්තනය වන ආලෝක ධාරාවක් ස්පර්ශ වෙන කොට ඒකෙ ස්පර්ශය දැනෙනවා. ඒකට පෙනීම කියල කියනවා. ඒ තමයි ඇසින් ගන්නා ස්පර්ශය දැනෙන ආකාරය. කනට යම් වායු කම්පනයක් ස්පර්ශ වෙනකොට ඒ හරහාත් වේදනාව හෙවත් දැනීමක් පහළ වෙනවා. ඒක ඇසීම වශයෙන් දැනෙනවා. නාසයට යම් ගන්ධයක් ස්පර්ශ වෙනකොට දැනීමක් හෙවත් වේදනාවක් පහළ වෙනවා. ඒක දැනෙන්නෙ සුවඳ, දුගඳ සහ මධ්‍යස්ථ වශයෙන්. දිවට යම් රසයක් ස්පර්ශ වෙනකොට දැනීමක් පහල වෙනවා. ඒක රස දැනීම විදිහට දැනෙනවා. කයට යමක් ගැටෙන කොට ස්පර්ශයක් දැනෙනවා. ඒක සැප පහස, දුක් පහස විදිහට වැටහෙනවා. සිතට යම් නාම ගෝත්‍රයක් ගැටුනම, ධර්මයක් ගැටුනම දැනීමක් වෙනවා. මේවා රූප, ශබ්ද, ගන්ධ, රස, ස්පර්ශ... ආදියේ මායාවන් වගේ දැනෙනවා. තවත් විදිහකට කියනව නම් ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති විදිහට හෙවත් නාම රූප විදිහට, නාම ගෝත්‍ර විදිහට දැනෙනවා. මේ දැනීම්වල දෘෂ්ටි වශයෙන් පිහිටනවද ඒ තමයි අවිද්‍යා මූල පටිච්ච සමුප්පාදයේ පෙන්වන ස්පර්ශය.

මේ ස්පර්ශ ලබන්න තණ්හා උපාදාන හෙවත් ඇලීම සහ බැඳීමත් හේතු වෙනවා. එතකොට අවධානය යොමු කරමින් බලාපොරොත්තුව ඉන්නවා. බලාපොරොත්තුවෙදි හට ගන්වන ශක්තිය, පැවැත්වීම් වශයෙන් අවශ්‍ය ක්‍රියා ද්ධතිය සඳහා ක්‍රියාත්මක වෙනවා. කාම ලෝකයේ නම් කාම වස්තු මුල් කරගෙන සිද්ධ වෙනවා. ඒකට කාමාවචර කියල කියනවා. කාමයෙන් වෙන් වෙලා ඉන්නකොට කාම ආස්වාදයෙන් තොර වූ රූප ඇසුරු කරගෙන ඉන්නවා. එතකොට රූපාවචරයි. රූප ඇසුරු කිරීම කාමය සඳහාත් සිද්ධ වෙනවා. එතකොට කාම ගතිය හා යෙදුන රූප ස්පර්ශය සකස් වෙනවා.

මෙතනදී වර්තමාන ක්ෂණයේ රූප ස්පර්ශ කරමින් ආකාර, ලිංග, නිමිති, ප්‍රඥප්ති, උද්දේස වශයෙන් නව මනෝ නිර්මාණ පහළ කරනවා. **ළඟම, ආසන්නම මතකයන්, මොහොතකට පෙර වූ අතීත අවස්ථාවෙදි බලවත් වෙලා වැටහෙන නිසා එවෙලෙ දැනෙන සැප, දුක, මධ්‍යස්ථ ගති ස්වභාවයෙන් වැටහෙනවා. ප්‍රිය නම්, මධුර නම් ආස්වාදය වැඩි වෙනවා. සුව ස්වභාවයක් දැනෙනවා. ඒ සඳහා ප්‍රිය කරනවා. නමුත් ඒ නාම ගෝත්‍ර කාලයත් එක්ක අතීතයට ගිහින් ඈත් වෙනවා. එතකොට මනෝ ස්පර්ශය අඩු වෙනවා. ආස්වාදය ක්‍රමයෙන් නොදැනී අතීතයේ සිද්ධ වෙච්ච දෙයක් විදිහට වැටහෙනවා. එතකොට නැවතත් වර්තමාන අවස්ථාවක් බලාපොරොත්තු වෙනවා. අලුත් මනෝ නිර්මාණයකට උත්සාහ දරනවා.** පැවැත්මේ බලාපොරොත්තුව ඉදිරියටත් තියා ගන්නවා. ඒ නිසා ඇස, කන,

නාසය, දිව, ශරීරය සහ මනස ඇසුරු කරල ස්පර්ශයන් හොයමින් ඇලීම බැඳීම සමග එකතු වෙමින් පරීක්ෂණයක යෙදෙනවා. එතකොට ගතියට අනුව භව ශක්තිය නිපදවෙනවා. මනෝ ධාතු මූලයේ ශක්තිය ඇද ගනිමින් හැඩ ගැසීම් කරනවා. මනෝ ධාතු ශක්තිය අනන්තයි. සත්ත්වයෝ කොච්චර ශක්තිය ඇද ගත්තත් ඒ ශක්තිය අවිද්‍යා තෘෂ්ණාවෙන් දිගටම නිපදවන නිසා කෙළවර වෙන්නෙ නෑ. අනන්ත නිසා ශක්තිය කෙළවර වන දවසකුත් නෑ. අපි කාන්දම් ශක්තිය කියන්නෙ මේ මනෝ ශක්තියට අනුව ක්‍රියා කරන රූප කලාපයන්ගේ ස්වභාවයට. කාන්දම් කියන කොටසේ තියෙන්නෙත් රූප කලාපයන්මයි. රූප කලාප කිසිවිටෙකත් ක්‍රියා ශක්ති බලයක් නෙවෙයි. ඒවා ඒ විදිහට තියෙන බව පේන්නෙ මනෝ ධාතු මූල ශක්තියට ගෝචර වෙලා වහල් වෙලා හැසිරෙන නිසා.

මනෝ ධාතුවෙන් වැඩ ගන්නෙ විඤ්ඤාණය. විඤ්ඤාණයේ මනසිකාර නම් චෛතසිකය මේ වැඩ ගැනීමේ ක්‍රියා මූලිකයා වෙනවා. මේ මනසිකාරයෙන් ක්‍රියා ඵලය මතු කරවල නාම රූප අවස්ථාව ඉක්මවල විපරිනාමයට පත් වෙමින් නාම ගෝත්‍ර සංඛ්‍යාවට එනවා. යම් එල්ලයක් කරා මෙහෙයවමින් ගහපු ගලක් ග්‍රහණයෙන් මිදිල අතින් ගිලිහුනාම, ඒ එල්ලය කරා ගැබ් කළ ශක්තියේ බලයෙන් යනව වගේ, මනසිකාරයෙන් නාම රූප පහල කරන භව ශක්තිය මනෝ ධාතු මූල ශක්තියෙන් ඇදල දීල ඒ මනසිකාරය ක්ෂණයකින් මියගිය කොටසට වැටෙනවා. ඒවා මතක නමින් හඳුන්වනවා. "මෘතක" කියන්නෙ මියගිය කාය කියන අරුත. ඒක සිංහලෙන් මතක නමින් හඳුන්වනවා. විඤ්ඤාණය තමන් සමග එකට පහල වෙච්ච චෛතසික ධර්ම සමග චිත්තක්ෂණයක් ජීවත් වෙලා මියගිය නාම කාය කියන කොටසට වැටෙනවා. මතක කිව්වෙ ඒවාට. මේවාට නාම ගෝත්‍ර කියලත් කියනවා. **කාලයත් සමග මොහොතක් පාසා අතීතයට යන මේ මතකයන් අනන්ත කාලයකට ඈත බැලුවත්, අතීතය කරා යමින් නොනැසී තිබීම නිසා "නාම ගොත්තං නජීරති" කියල දේශනා කරල තියෙනවා.** ඒ නිසාම සබ්බේ ධම්මා අනිච්චාති කියල දේශනා නොකර අනත්තාති (සියලු ධර්ම අනාතයි, අසාරයි) කියල දේශනා කරල තියෙන බව පේනවා.

මේ විදිහට විහිද වූ ශක්තිය කර්ම ශක්තිය නම් වෙනවා. භවයේ අනන්ත අතීතයේ පටන් නිපදවූ ඒ ඒ හැඩගැසීම් ඇති කිරීමට සුදුසු ශක්ති රටා අනන්තයි. මනෝ ධාතුවේ පිහිටපු මේ ශක්ති රටාවන් සුදුසු වෙලාවට අනුරූප හටගන්වන්න හේතු වෙන ගුණ ඇතිව පිහිටල තියෙනවා. ඒ නිසා සුදුසු පරිදි භවය හට ගන්වනවා. යම් දවසක භවයේ බැඳීම කෙළවර කළාද, එතැන් පටන් නිපදවපු ශක්තිය තිබුනත් ඇසුරු කරන්නෙක් පහල වෙන්න හේතු නැති නිසා, රහතන් වහන්සේගේ අනුපාදිසේස නිර්වාණයෙන් පසු පහල වෙන සත්ත්ව පැවැත්ම නැති වෙනවා.

මේ විදිහට කර්ම විපාක වශයෙන් පහල වූ අභ්‍යන්තර සහ බාහිර ආයතන හේතු කොටගෙන හටගන්නා ස්පර්ශ හේතුවෙන් වන වේදනා පහල වීමකුත් වෙනවා. පෙනීම, ඇසීම, ගන්ධයන්ගේ දැනීම, රස දැනීම, ස්පර්ශය දැනීම සහ පැවැත්ම පිළිබඳව දැනීම වශයෙන් අපේ උවමනාව තිබුනත් නැතත් සිද්ධ වෙන දැනීම් ඇති වෙනවා. ඒවත් සැප, දුක්, උපේක්ෂා වශයෙන් වෙනවා. ඒවායින් මතු භවය පහල කරන්නෙ නෑ. ප්‍රවෘත්ති විපාක විදිහට ක්‍රියා කරනවා.

මේ දැනීම් සමග ප්‍රිය මධුර බවේ ඇලීම් බැඳීම් තියෙනව නම්, ඒවා හොයමින් ඒ ඇසුර බලාපොරොත්තු වෙමින් අවිද්‍යාව සහිතව සංඛාර කරමින් නාම රූපයෝ ඇසුරු කරනවා. **ආස්වාද විඳීමේ බලාපොරොත්තුව නැගී සිටියම පෙනීම ඉක්මවල බැලීමට බහිනවා. ඇසීම ඉක්මවල අහන්න යොමු වෙනවා. ආඝ්‍රහණය දැනීම ඉක්මවල ආඝ්‍රහණය කරනවා, ඒ සඳහා යොමු වෙනවා. රස දැනීම ඉක්මවල රස බලනවා. ස්පර්ශය දැනීම ඉක්මවල ස්පර්ශ කරනවා. හිතට දැනෙන බව ඉක්මවල දැනීමට යොමු වෙනවා. පරීක්ෂණ කරනවා. බාහිර හෝ මනෝ ලෝකය හෝ ඇසුරට බහිනවා.**

වින්දනයන් කෙරෙහි මේ විදිහට සිද්ධ වෙන සහ සිද්ධ කරන දෙයාකාරයක් වෙනවා. මේ වේදනාවන් නිකං හට ගන්නව නෙවෙයි, හේතුවකින් පහළ වෙන බව දැනගන්නවා. හේතු නැත්නම් නොවන බව දැන ගන්නවා. හට ගත්ත වේදනා මොහොතින් මොහොත ගෙවි ගෙවී ගිහින් විනාසයට පත්වීම ධර්මතාවය කොට ඇති බවත්, ඒ ධර්මතාවයේ වහලෙක් විදිහටම ගොදුරක් විදිහටම පහල වෙන බවත්, ඒ වේදනා ඇති කරන්න හේතු වූ ප්‍රඥප්තීන් වහල් බවටම ගොදුරු බවටම පත්වෙලා ගෙවි ගෙවී ගිහින් වහල්වම ගොදුරුවම කෙළවර වන බවත් දැන ගන්නවා. කොච්චර පවත්වන්න බලාපොරොත්තු වුනත් ඒවා නිච්ච ධර්ම ස්වභාවයකට හිමිකම් නැති දේ බව දැන ගන්නවා. තමන්ට කැමති සේ පවත්වන්න බැරි බව දැනගන්නවා. ඒවා පිළිබඳව කොච්චර ඇසුරු කළත්, සාරත්වයක් ඵලයක් යහපතක් නැති බවත්, ප්‍රයෝජනයෙන් හිස් බවත් දැන ගන්නවා. ආසා කළ තරමට, ප්‍රියමනාප විදිහට ගත් තරමට, ඒකාන්තයෙන් හිමි ස්වභාවය වන වැනසීම සිද්ධ වෙනකොට දුක් ඇතිවෙන බවත් සෝක වීම්, සුසුම් ලෑම්, හැඬීම් වැළපීම්... ආදී අනේකවිධ අසහනයන් ලබන බවත් දැනගන්නවා. මුළාව නිසා, රැවටීම නිසා, මේ විදිහට වටිනාකමක් ඇති විදිහට අරගෙන මේ දුක් ලබන බව දැනගන්නවා.

මේ විදිහට වේදනාව පිළිබඳව දැනීම වෙනවා. වේදනා පවතින හේතුව පිළිබඳව දැනීම වෙනවා. වේදනා නිරෝධ කරන්න පුළුවන් බවත්, නිරෝධ කළාම ස්වභාවයත් දැනෙනවා. නිරෝධ කරන මගත් දැනීම වෙනවා. දැනගෙන මෙනෙහි කරනකොට හරි දැකීම වෙනවා. එතකොට වේදනාවේ කලකිරෙනවා. කලකිරෙන කොට අත්හැරෙනවා. අත්හැරෙන කොට නොඇලෙනවා. නොඇලෙනකොට මිදෙනවා. මිදුන බව දැන ගන්නවා. හේතු සහිතව, ඵල සහිතව පරම සත්‍ය මාර්ගයෙන්, කලකිරුනු බව, අත්හැරුන බව, නොඇලුන බව, මිදුන බව දැනගත්තම, ඒ සත්‍යාවබෝධය කිසිම දවසක කිසිම කරුණක් නිසා වෙනස් නොවෙන බවත්, අතීත අනාගත වර්තමාන කියන මොන කාලයක වුනත් නොවෙනස් සත්‍යය බවත් දන්නවා. අත්බැව කෙළවර වුනාද, මතු පහළ වෙන්න කිසි හේතුවක් නැති බවත් දන්නවා, දකිනවා, ප්‍රත්‍යක්ෂ කරනවා. මේකත් නිවන් මගක්. පටිච්ච සමුප්පාද නිරෝධ ධර්මයට අනුකූලයි. සැක නෑ. මග අනුගමනය කරනව නම්, ඒකාන්තයෙන් මග ඵල පූර්ණ කරල කෙළවර කරල භව දුකින් මිදෙන්න පුළුවන්.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර*
*මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ*
*සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...

**08 වන කොටස**



**සංයුක්ත නිකාය 1**

<u>මනෝ නිවාරණ සූත්‍රය - 27 පිටුව</u>

සියල්ලෙන් සිත නිවාරණය කිරීමෙන් දුකෙන් මිදෙන බව දෙවියෙක් කී විට, එය එසේ නොවන බවත්, යමකින් යමකින් අකුසල් වේ නම් එයින් සිත මුදාලිය යුතු බවත් බුදු පියාණන් වහන්සේ දේශනා කර ඇත.

<u>අරහත්ත සූත්‍රය - 29 පිටුව</u>

අරිහතුන් වහන්සේ "මම, මගේ" යැයි කියන බවත්, එය ලොව ව්‍යවහාර මාත්‍රයක් මිස මානයෙන් නොකියන බවත් ප්‍රකාශ කර ඇත.

<u>සර සූත්‍රය - 31 පිටුව</u>

යම් තැනක ධාතු 4 නොපිහිටාද, එහි සංසාර ප්‍රවාහයෝ නොපවතී. නාම රූපයෝ නිරවශේෂයෙන් නිරෝධ වේ.

<u>නසන්ති සූත්‍රය - 43 පිටුව</u>

ලෝකයෙහි විචිත්‍ර වූ අරමුණු ඇත්ද, ඒවා කාමයෝ නොවෙත්. පුරුෂයාගේ සංකල්පිත රාගයම කාමයයි. ලොව විසිතුරු අරමුණු එසේම පවතී. පණ්ඩිතයෝ එහි ඡන්ද රාගය දුරු කරත්.

<u>වනරෝප සූත්‍රය - 61 පිටුව</u>

උයන් වතු, පියවි වන වගා, ඒ දඬු පාලම්, ආවාස, පැන් පොකුණු කරවූ අයට රෑ දවල් පින් වැඩෙන බව පෙන්වා ඇත.

<u>නජීරතී සූත්‍රය - 81 පිටුව</u>

රූපං ජීරති මච්චානං - නාම ගොත්තං නජීරතී යන දහම් පාඨය ඇත.

<u>සුබ්‍රහ්ම සූත්‍රය - 103 පිටුව</u>

බොජ්ජංග ධර්ම, තපෝ ගුණය, ඉන්ද්‍රිය සංවරය, නිවන හැර සත්ත්වයන්ට වෙනත් සුවයක් නොදකින බව දේශනා කර ඇත.

<u>අනාථපිණ්ඩික සූත්‍රය - 107 පිටුව</u>

තර්කයෙන් ගත යුතු දෙයක් අනුමත කොට ඇති අයුරු පෙන්වයි.

<u>සේරී සූත්‍රය - 111 පිටුව</u>

යමෙක් පහන් සිතින් සැදැහැයෙන් ආහාරය දෙත්ද, මෙලොවහිද පරලොවහිද ආහාරය ඔහුට ලැබෙන්නේය. මසුරුකම දුරු කර දන් දීමෙන් පරලොවදී සත්ත්වයාට පිහිට ලැබෙන බව පෙන්වා ඇත.

<u>නානාතිත්ථිය ස්‍රාවක සූත්‍රය - 127 පිටුව</u>

අන්‍ය තීර්ථක ශ්‍රාවකයෝද දෙව්ව ඇති බවට නිදසුන්.

අසම, සහලී, නිංක, ආකෝටක, වේටංබරී, මානවගාමීය යන බොහෝ දෙව් පුත්හු බුදු පියාණන් වහන්සේ දකින්න වේළුවනාරාමයට පැමිණි බව පෙන්වා ඇත.

<u>දහර සූත්‍රය - 131 පිටුව</u>

ක්ෂත්‍රියෝ (රජ කුලයට අයත්), සර්පයා, ගින්න, භික්ෂුව ළදරු යැයි අවමන් නොකළ යුතු බව පෙන්වයි.

<u>කළ්‍යාණ මිත්‍ර සූත්‍රය - 163 පිටුව</u>

ආනන්ද හිමියන්, කළ්‍යාණ මිත්‍රත්වය මග බඹසරට හරි අඩක් ආධාර යැයි කියූ විට, කළ්‍යාණ මිත්‍රත්වය අරි අටඟි මගට සම්පූර්ණ ආධාරය බව පෙන්වයි.

<u>දුතීය අපුත්තක සූත්‍රය - 169 පිටුව</u>

මහා දුප්පතෙක් සේ දිවි ගෙවූවෙක් සැවැත් නුවර සිටියේය. ඔහුට දරුවන්ද නැත. නගරසිඛී නම් පසේ බුදුන්ට දානය දෙන්න පවරා, පසුව තම දාසයන්ට දුන්නා නම් හොඳ යැයි සිතූ හෙයින් පින් පව් මිශ්‍ර විපාක ලැබීය. හත් වරක් සුගති ස්වර්ගයේත්, මිනිස් ලොව හත් වරක් සිටුවරයෙකුත් විය. තම සහෝදරයාගේ දරුවෙක් ධන තණ්හාවෙන් මැරූ පාපයට බොහෝ කල් දුගති උපත ලබා මෙකල දරුවන් නැති විය. දාසයන්ට දුන්නා නම් හොඳ යැයි සිතූ පවින්, කොතෙක් සම්පත් තිබුනත් ඒවා පරිභෝගයට සිත නොනැමී දුප්පතෙක් සේ දිවි ගෙවීය. සියක් ලක්ෂයක් අගනා රන් හා බොහෝ රිදීද කොසොල් රජුගේ භාණ්ඩාගාරයට හිමි විය. ඔහු පිනක් නොකොට දිවි ගෙවා මහා රෞරව නම් නරකයෙහි ඉපදුනි. මෙයින් සසර භයානකත්වය තේරුම් ගනිත්වා.

<u>බක බ්‍රහ්ම සූත්‍රය - 259 පිටුව</u>

අනිත්‍ය හා අනිච්ච යන වචන දෙකට වෙන වෙනම අර්ථ ඇති බවට නිදසුනක් ඇත.

අනිච්චං චේව සමානං නිච්චන්ති චක්ඛති

අද්ධුවං චේව සමානං ධුවන්ති චක්ඛති...

බ්‍රහ්මයාට සාස්වත දෘෂ්ටිය ඇතිවීමට හේතු වූ අදහස් පෙන්වයි. බ්‍රහ්ම ලෝකය නිච්ච, ධුව, සස්සත, කේවල, අචන ධම්ම, නොඉපදීම, නොදිරීම, නොමිය යෑම, වෙනස් නොවීම උත්තරීතර නිස්සරණ යැයි දෘෂ්ටි ඇතිවීම.

<u>සුන්දරීක භාරද්වාජ සූත්‍රය - 301 පිටුව</u>

තථාගතයන් වහන්සේට පිදූ දානයක්, ලොව තථාගත හෝ තථාගත ශ්‍රාවකයෙකුට හෝ ශ්‍රාවක පරිනාමිකයෙකුට හෝ හැර අන්‍යයෙකුට මනා සේ නොදිරවන බැවින්, ප්‍රාණීන් නැති දියකට හෝ තණ නැති බිමකට හෝ දමන ලෙස පෙන්වා ඇත.

<u>සූචිලෝම සූත්‍රය - 369 පිටුව</u>

තථාගතයන් වහන්සේගේ කය සූචිලෝම නම් යක්ෂ තෙමේ සිය කයෙන් ස්පර්ශ කළ බවද, ළාමක ස්පර්ශයක් දැනුන බැවින් උන්වහන්සේ කය මඳක් බැහැර කළ බවද පෙන්වයි.

<u>ඉසයෝ සමුද්දක සූත්‍රය - 405 පිටුව</u>

යාදිසං වපතේ බීජං - තාදිසං හරතේ

# නොපළ වූ ගුණ කඳ V

**අභයරතනාලංකාරය - 76**



**වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ**

පසුගිය කලාප දෙකෙන් විස්තර කළ ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේට, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ සම්බන්ධයෙන් තවත් බොහෝ අත්දැකීම් තියෙන නිසා, පින්වතුන්ගේ යහපත හා දැන ගැනීම පිණිස මෙවරත් උන්වහන්සේ සමග කළ සාකච්ඡාවක් ඇසුරෙන් මේ කරුණු ඉදිරිපත් කරනවා.

අබේරත්න මහත්තය මහණ වෙන්න සුදුසු ස්ථානයක් පරීක්ෂා කර කරත් කාලයක් හිටියා. ඒ සඳහා සුදුසු ස්ථානයක් බලන්න හැම තැනම ගියා. එහෙම ගියාම ඒ ස්ථානවල ගුප්ත ලෝකයේ උදවිය මහත් හරසරින් මහ රජ කෙනෙක් වගේ තමයි මහත්තයව පිළිගත්ත කියන්නෙ. මොකද මහත්තයගෙ තිබ්ච්ච විශේෂ හැකියාවෙන් ඒ අයට පිහිටක්, ගැලවීමක්, සම්පත්තියක් ලැබෙන බව ඒ අය දැනගෙන හිටියා. මහ බෝසතාණන් වහන්සේ ජයසිරි මහා බෝධීන් වහන්සේ ළඟට ගිහින් බුදු වෙන්න ඉඳ ගත්තම, දස දහසක් සක්වළ මාර සේනාව බාධා කරන්න ආවා කියනවා. පස්සෙ මාර පරාජය කරල බුදු වුනා කියනවා. එහෙම බුදු බව ලබල පස්වග මහණුන්ට ධර්ම දේශනා කරන්න වැඩියම, ඒ පිරිසට බුදු වුන බව හඳුනගන්න බැරි වුනා කියනවා. හැබැයි බුදු වුන බව මනුස්ස ලෝකයේ අයට හඳුනගන්න බැරි වුනත්, බුදු වෙන බව දස දහසක් සක්වළ අය දැනගෙන තිබිල තියෙනවා. නැත්නම් කොහොමද දස දහසක් සක්වළින් ඇවිත් බාධා කරන්නෙ? ඒ වගේම පළවෙනි ධර්ම දේශනාව කරනකොටත් මනුස්ස ලෝකෙ බණ ඇහුවෙ කී දෙනාද? නමුත් නොපෙනෙන ලෝකවල අප්‍රමාණ පිරිස් බණ අහපු බවත්, විසාල පිරිසක් දහම් අවබෝධ කරගත් බවත් සඳහන් වෙනවා.

අන්න ඒ වගේ තමයි, වහරක හාමුදුරුවන්ගෙ ගුණ සමහර මිනිස්සු දැනගෙන හිටියෙ නෑ. නමුත් නොපෙනෙන ලෝකවල අය උන්වහන්සේගේ ගිහි කාලෙ ඉඳන්ම ගුණ, වටිනාකම දැනගෙන හිටියා. ඉතින් එතුමා ඒ වෙනකොටත් බොහෝ ස්ථානවල විශේෂ බෝධි පූජා, පුණ්‍යානුමෝදනා... ආදිය සිද්ධ කරල තිබ්ච්ච නිසා, ගුප්ත ලෝකෙ ඉන්න බොහෝ පිරිස් අබේරත්න උපාසක මහත්තයගෙ ශක්තිය, හැකියාව ගැන දැනගෙන හිටියා.

දවසක් මහත්තය තමන්ගෙ මහණ පින්කම ගැන කතා කරන්න විහාරස්ථානයකට ගියා. ඒ විහාරස්ථානයට ඇතුල් වෙනවත් එක්කම, ඒ ස්ථානයේ අපවත් වෙලා හිටපු හාමුදුරුවො දෙනමක් ශ්‍රමණ ගන්ධබ්බයො විදිහට විහාරස්ථානයේ ඉඳගෙන මහත්තය දිහා බලල බොහොම ලැජ්ජාවෙන් අහක බලාගෙන පන්සල් වත්තෙන් පිටට පැනල දිව්ව කිව්වා. මහත්තයත් නිශ්ශබ්දවම පන්සලට ගිහින් මහණ පින්කම ගැන ඒ පන්සලේ හාමුදුරුවොත් එක්ක කතා කළාම ඒහාමුදුරුවො කියල තියෙනවා, මහත්තයට මෙතන ගැලපෙන්නෙ නෑ, අපේ නායක හාමුදුරුවොත් සංඝ සභාවෙ අනික් අයත් කැමති නෑ, මම විතරක් කැමති වුනාට කොහොමද මහණ කරන්නෙ කියල. ඊට පස්සෙ මේ හාමුදුරුවො ඒ විහාරස්ථානයටම ටිකක්ඈතින් තියෙන ගල් ලෙනක, මහත්තයගෙ ධර්ම සාකච්ඡාවලටම සම්බන්ධ ස්වාමීන් වහන්සේ නමක් මුණගැහිල, ඒ ස්වාමීන් වහන්සේත් කැඳවගෙන මහණ පින්කම ගැන කතා කරල, සම්මත සංඝ සභාවල පවතින නීති රීති එක්ක කටයුතු කිරීමේ අපහසු බව මහත්තයට දැනුම් කිව්වා. එතකොට මහත්තයත්, ආ... හොඳයි පස්සෙ මොනව හරි බලමු කියල එතනින් පිටත් වුනා.

ඒත් එක්කම නොපෙනෙන ලෝකවල බොහෝ පිරිස් ඒ

---

එලං... යන ගාථාව ඇත. සෘෂීන්ගෙන් සම්බර නම් අසුර නායකයෙකුට කළ සාපයක් ගැනද, සම්බර අසුරිඳු රාත්‍රී තුන් යලක් බිය වී නැගී සිටි බවද පෙන්වයි. සෘෂි සාප ඇති බව මෙයින් පැහැදිලි වේ.

**දේවා සූත්‍රය - 409 පිටුව**

සකස් කොට දන් දුන් නිසා සක්‍ර දෙවියන්ට සක්ක යැයි කියනු ලැබේ. සක් දෙවිඳුට කියන තවත් නම් - පුරින්දද, වාසව, සහස්සක්ක, සුජම්පති, දේවානමින්ද. (අර්ථ දහසක් මොහොතින් සිතන නිසා සහස්සක්ක නම් වේ.) සක්‍රත්වයට පත් වූ සප්ත ව්‍රත පද

දිවි හිමියෙන් මව්පියන් පෝෂණය කිරීම, දිවි හිමියෙන් කුල දෙටුවන් පෝෂණය කිරීම, දිවි හිමියෙන් මුදු වදන් භාවිතය, පිසුනු බස් දිවි හිමියෙන් නොකීම, දිවි හිමියෙන් සත්‍ය වචන කතා කිරීම, දිවි හිමියෙන් ක්‍රෝධ නොකිරීම, දිවි හිමියෙන් ත්‍යාගවන්ත වීම සහ මසුරුමල නැතිව විසීම

**දුබ්බණ්ණිය සූත්‍රය - 423 පිටුව**

ක්‍රෝධය ආහාරය ලෙස ගන්නා යකුන් සිටින බව පෙන්වයි. සක් දෙවිඳුන්ගේ ආසනයේ වාඩි වූ යක්ෂයාගේ කතාව ඇත.

***පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.***

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

හාමුදුරුවො දෙනම ගැනම බොහොම අප්‍රසාදයෙන් කටයුතු කළ බව තේරුණා කියල මහත්තය කිව්වා. ඊට පස්සෙ මහත්තය නැවතත් තමන්ගෙ සාසනික කටයුතු කරන තැනට ගියාට පස්සෙත්, ඒ ගුප්ත ලෝකයේ අය ඒ හාමුදුරුවො දෙනමට දොස් කිය කියා අප්‍රසාදය පළ කළා කිව්වා. පහුවදා රෑ ඒ දෙනමගෙන් එක නමක් සැතපෙනකොට ඇඳෙන් බිමට ඇදල දැම්ම කිව්වා. අනිත් හාමුදුරුවන්ටත් නිදාගන්න බෑ, සද්දබද්ධ ඇහෙනවලු. ඉතින් මේ හාමුදුරුවො දෙනමටම ඒ වගේ කරදර බාධක ඇති වුනාම ඒ බව මහත්තයට ඇවිත් කිව්වා. මමත් ඒ වෙලාවෙ එතන හිටියා. හා... බය වෙන්න දෙයක් නෑ ස්වාමීන් වහන්ස, මහණ පින්කම වැළැක්වුවා කියල තමයි ඔය කරදර කරන්නෙ, දැන් ඉතින් කරදර කරන එකක් නෑ කියල, ඒ වෙලාවෙම මහත්තය හිනා වෙවී අහක බලාගෙන මොනවහරි අධිෂ්ඨානයක් කළා. ඊට පස්සෙ ඒ හාමුදුරුවන්ට බුද්ධ පූජාවට සම්බන්ධ වෙන්න කියල, මහත්තය කරපු පින් අනුමෝදනාවෙන් පස්සෙ ඒ සියළු ප්‍රශ්න විසඳුනා.

ඒ නිසා මහත්තය යන යන තැනදි ගුප්ත ලෝකවල අය මහ පුදුම සන්තෝසෙකින් ප්‍රීති ඝෝෂා නගමින් ගෞරව කළා කියනවා. ඒ අයගෙ පිළිගැනීම් පවා හරි අමුතුයි කිව්වා. අත්දෙක එකතු කරල දිගා වෙලා, දොහොත් මුදුන් දීගෙන, සමහරු සාධුකාර දීගෙන, තව සමහරු බෙල්ල නවාගෙන, තවත් සමහරු ආචාර කරන ආකාරයෙන් අත උඩට උස්සල... මේ වගේ විවිධාකාර ක්‍රමවලින් තමයි පිළිගත්තෙ කිව්වා.

උදාහරණයක් විදිහට ගමේ පන්සලකට මහා නායක හාමුදුරුවො වඩිනව කිව්වොත් අපි තොරණ බැඳල සරසල පිළිගන්නවනෙ. හැබැයි ඒත් නිකම්ම වඩින්නෙ නෑනෙ. ඒකටත් ඉල්ලීමක් කරන්න එපැයි. හැබැයි එහෙම ඉල්ලීමක්වත් නොකර එක පාරටම නිකං හිතල පන්සලකට වැඩියොත් අපිට කොච්චර සතුටුයිද? අන්න ඒ වගේ පිළිගැනීමක් වහරක හාමුදුරුවො මහත්තය කාලෙ ඉඳන්ම යන යන තැන ගුප්ත ලෝකයෙන් ලැබුනා. ඒත් උන්වහන්සේ අපිත් එක්ක කියනවා, මෙන්න මෙහෙම දෙයක් සිද්ධ වුනා, මං ඒකට අවධානය යොමු කළේ නෑ කියල. ඒ කියන්නෙ ඒ ගැන දන්නෙ නෑ කියන එක නෙවෙයි. මං ඒවට ඇලුනෙ නෑ කියන එකයි කියන්නෙ. දහම් මග අනුගමනය කරන අය හැමවෙලාවෙම පින් පව් ගැන කතා කරනවට වඩා හේතුඵල දකින්න ඕන. ඒ කියන්නෙ යම් කිසි කෙනෙක් උදව්වක් උපකාරයක් කළාම ඒක කුසල විපාකයක් බව දකින්න ඕන. යම් කරදරයක්, බාධකයක්, අලාභයක් කරපු වෙලාවක සසරෙ කරපු අකුසල කර්ම විපාකයක් බවත්, ඒ කරපු අය තම තමන්ගෙම සසර ගමනට මහා බාධාවක් කරගත්ත බවත් දකින්න ඕන. එහෙම දකින ගමන් ආර්ය මෛත්‍රිය ලෝක සත්ත්වයා වෙත පතුරවමින් නොඇලී නොගැටී කටයුතු කරන්න ඕන. ඉතින් අබේරත්න උපාසක මහත්තයට ඒ කාලෙ ඉඳන්ම ලාභ, කීර්ති, ප්‍රසංසා පස්සෙ යන මානසිකත්වයක් තිබුනෙ නැති නිසා තමන්ට ලැබිච්ච ගෞරව සත්කාරවලට ඇලුනෙ නෑ.

උන්වහන්සේ අඩු ගානෙ තමන්ට ලැබිච්ච දෙයක්වත් පරිහරණය කළේ නෑ. පසු කාලෙක අසනීප වුනාට පස්සෙ දායක පිරිස විශේෂ පහසුකම් සැලසුව මිසක්, මුල් කාලෙ තමන්ට ලැබිච්ච පොඩි දෙයක්වත් එහෙමකට පරිහරණය කළේ නෑ. මට මතකයි මහණ වෙච්ච අළුත දවසක උන්වහන්සේ වහරක පන්සලේ පහළ තිබිච්ච ළිඳට පැන් පහසු වෙන්න ගියා. මමත් ඒ වෙලාවෙ ඒ ආසන්නයේමයි හිටියෙ. හැබැයි මම ඉන්න බව හාමුදුරුවො දැක්කෙ නෑ. ඉතින් ඇඟේ ගාන්න සබන් බලනකොට සබන් නෑ ඉවරයි. හාමුදුරුවො පැන් පහසු වෙන්න ආරම්භ කරල ටික වෙලාවක් ගිහින් නැවත වටපිට බැලුවා. එතකොට බිම තිබිච්ච කළු ගල් අතර, අතටවත් අහුවෙන්නෙ නැති පොඩි පොත්තක් වගේ සබන් කෑල්ලක් තියෙනව දැකල, හාමුදුරුවො බිමට නැමිල බොහොම අමාරුවෙන් ඒ ගල් කැට ඇත් කරල අර පුංචි සබන් පොත්ත අරගත්තා. මම ඉතින් ඕක දැකල කිව්වා, හාමුදුරුවනේ සබන් ඉවරයිනෙ, මම පන්සලෙන් සබන් කෑල්ලක් ගේන්නම් කියල. නෑ ඕන නෑ ස්වාමීන් වහන්ස සබන් තියෙනවා කියල, අර සබන් චුට්ට බොහොම අමාරුවෙන් ඇඟේ ගාගත්තා. ඉතින් වහරක පන්සලට ලැබිච්ච පිරිකරත් එක්ක බැලුවම සබන් කෑල්ල මොකක්ද? නමුත් උන්වහන්සේ ඒවට ඇලුනෙ නෑ.

තවත් දවසක හාමුදුරුවො භාවනා කර කර ඉඳල, උදේ 5.00 ට විතර ගිලන්පස හදන තැනට ඇවිත් හිනා වෙලා ඉඳගත්තා. එතන හිටිය කෙනෙක් හාමුදුරුවන්ට ගිලන්පස එකක් හැදුවා. එතකල් හාමුදුරුවො බණ කතා කිය කිය තමයි හිටියෙ. ගිලන්පස හදන අතරෙ වටපිට බලල මේසෙ උඩ තිබිච්ච පාන් කෑලි වගයකින් එකක් අතට ගත්තා. ඒව කලින් දවසෙ ගිහි අයගෙ පරිහරණයට අරන් ඉතිරි වෙලා නිකම්ම මේසෙ උඩ තිබිච්ච පාන් කෑලි. ඒත් හාමුදුරුවො ඒකෙන් කෑල්ලක් අරගෙන, වටේට පොඩි කොටසක් කඩල ඒක තිබිච්ච තැනින්ම තියල, ඉතිරි කෑල්ල දිහා බලාගෙන ප්‍රත්‍යවේක්ෂා කරල ඒක වැළඳුවා. ඊට පස්සෙ ගිලන්පස එකත් වළඳල හිනා වෙලා මට මෙහෙම කියනවා.

ස්වාමීන් වහන්ස, මේ ලෝකෙ ලොකුම ගින්න තමයි බඩගින්න කියන්නෙ. බඩගිනි වුනාම කවුරුවත් කන්න කියන්න ඕන නෑ, දන්න හඳුනන්න අවශ්‍ය නෑ. බඩගිනි කෙනා හොරෙන් හරි අරගෙන කනවා. නමුත් කන්න කිව්වම පස්සෙ කමු, කාල ආවෙ... ආදී වශයෙන් නොයෙකුත් දේ කියන්නෙ, කලින් කාපු කෑමවලින් තවදුරටත් ඉන්න පුළුවන් කියන එක. ඒ නිසා මට බඩගිනි වුනොත් මම වටපිට බලල මොනව හරි තියෙන දෙයක් කාල වතුර ටිකක් බොනවා. ඒ නිසා ඔබ වහන්සේ මා ගැනවත් බලන්න එපා. ඔබ වහන්සේට බඩගිනි වුනොත් ඔබ වහන්සේත් මොනව හරි තියෙන දෙයක් අහුලගෙන කාල වතුර ටිකක් බීල කොහොම හරි ඉක්මනට තමන්ගෙ වැඩේ කරගන්න. නැත්නම් අපි පරාදයි.

මෙහෙම කියල හාමුදුරුවො හිනා වෙලා කුටියට ගිහින් දොර වහගත්තා. ඒ කියන්නෙ නැවතත් භාවනා කරන්න ආරම්භ කළා. ඉතින් ඔය වගේ සිද්ධිවලින් පැහැදිලිවම පේනවා, උන්වහන්සේ බොහොම සරල දහම් ජීවිතයක් ගත කරමින් තමන් ගැනවත් බලන්නෙ නැතිව, අනිත් අයගෙ යහපත සඳහාම මුළු ජීවිත කාලයම කැප කරපු මහා උත්තමයෙක් බව.

වහරක හාමුදුරුවො මහණ වෙච්ච දවසෙම රෑ තවත් විශේෂ සිද්ධියක් වුනා. උන්වහන්සේ මහණ වෙලා කාගෙවත් බලපෑමක් කරදරයක් නැතිව, නිදහසේ නිස්කලංකව බණ භාවනා කටයුතු කරගෙන යන්න පුළුවන් තැනක් තමයි හෙව්වෙ. ඒ නිසා ඉතිං එක තැනක හිටියෙත් නෑ. සුදුසු තැනක් ලැබෙන කල් කොහේ හරි තාවකාලිකව වැඩ හිටියා. මමත් ඉතින් මහත්තය ගිහි කාලෙ ඉඳන්ම මම දන්න කියන විවිධ තැන්වලට එක්කගෙන යනකොට, ඒ ස්ථානවල වැඩ ඉන්න හාමුදුරුවරුන්ට, පුළුවන් විදිහට මහත්තය ගැන කරුණු පැහැදිලි කරල දෙනවා. මේ

නිකං කෙනෙක් නෙවෙයි, මෙහෙම හැකියාවක් තියෙන විසාල ශ්‍රාවක පිරිසක් ඉන්න මේ වගේ බෝධි පූජා කරන විශේෂ මහත්තයෙක් කියල හඳුන්වා දෙනවා. මොකද ඒ ආයතනවල ප්‍රධාන හාමුදුරුවරු ඒ කාරණය තේරුම් අරගෙන හිටියෙ නැත්නම් අපිට බණ ටිකක් කියන්නවත් බෑ. ඒකට අවසර නෑ. විවිධ ප්‍රශ්න එනවා. ඒ නිසා මම විශේෂයෙන් ඒ පන්සල්වල හාමුදුරුවරුන්ට මහත්තය ගැන දැනුවත් කරනවා.

ඉතින් වහරක හාමුදුරුවො මහණ වෙච්ච දවසෙ මම උන්වහන්සේට කිව්වා, මම දන්න කියන මෙන්න මෙහෙම හාමුදුරුවො නමක් ඉන්නවා, එක්කගෙන එන්නද කියල. හා කමක් නෑ එක්කගෙන එන්න කිව්වා. ඒ හාමුදුරුවොත් මහණකමින් ජ්‍යෙෂ්ඨ, ත්‍රිපිටකය ගැන හොඳ දැනීමක් තිබ්බ කෙනෙක් නිසා, ඊට කලින් මමත් ඉතින් වහරක හාමුදුරුවන්ගෙන් අහගත්තු පටිච්ච සමුප්පාදයේ එන විශේෂ දහම් කොටස් කිහිපයක් තැනින් තැන පොඩ්ඩ පොඩ්ඩ උන්වහන්සේට කිව්වා. මටත් ඇත්තටම කියාගන්න බෑ. මට ඕන වුනේ ඒ දහම ගැන මේ හාමුදුරුවන්ට පොඩ්ඩක් රහ වට්ටන්න. ඉතින් මේ විදිහට වහරක හාමුදුරුවො ඕනම දෙයක් පටිච්ච සමුප්පාදයට අනුව විග්‍රහ කරනවයි කිව්වම, උන්වහන්සේගෙ තවත් ගෝල හාමුදුරුවො නමක් එක්ක වහරක හාමුදුරුවො මුණ ගැහෙන්න එදා රෑ ඒ ආරණ්‍යයට වැඩියා.

වහරක හාමුදුරුවො වැඩ හිටිය කුටිය බොහොම කුඩා ගල් ලෙනක්, පහසුකම් මුකුත් නෑ. කිහිප දෙනෙකුට ඉන්න පහසුකම් තියෙන තැනක් නෙවෙයි. ඉතින් අපි කුටියෙන් පිට දොර ළඟ පඩිය උඩ තමයි වාඩි වෙලා හිටියෙ. එතකොට වහරක හාමුදුරුවො අනිත් පැත්තෙ තිබ්බ පඩියක් උඩ තමයි හිටියෙ. එතන තිබ්බ වටපිටාව ආදී සියලුම කරුණු කාරණා බලල, දහම් ගරුත්වය තියන්න ඕන නිසා මම මොකද කළේ, මොන විදිහකින් හරි කවුරු ආවත් නැගිටින්න ඕන නෑ කියන තැනකට වැටිල එතන තිබ්බ පහලම තැනින් තමයි ඉඳගත්තෙ. මොකද හාමුදුරුවො ගිහි කාලෙ වුනත් කවුරු ආවත් දහමම තමයි සාකච්ඡා කළේ. ඒ නිසා දහම් ගරුත්වය තියන්න ඕන. ඉතින් මම අගලක් හරි පහත් තැනකින් තමයි ඉඳගන්නෙ. හැබැයි මේ හාමුදුරුවො දෙනම ආපු ගමන් වටපිට බැලුවා, එතන තිබ්බ උසම බැම්ම උඩින් ඉඳ ගත්තා.

සාකච්ඡාව පටන් ගන්නකොටම වහරක හාමුදුරුවො උන්වහන්සේලාට වැඳලමයි පටන් ගත්තෙ. ඉතින් මේ නායක හාමුදුරුවන්ට මමත් කරුණු කාරණා ටිකක් කියල තිබ්බ නිසා, උන්වහන්සේ අහනවා, කොහොමද ඔය කාරණා ඔහොම කියන්නෙ කියල. එතකොට වහරක හාමුදුරුවො පටිච්ච සමුප්පාදය ගැන ටිකක් විස්තර කළා. දැන් මේ හාමුදුරුවො එතන තිබ්බ ගහක් පෙන්වල අහනවා, කොහොමද එහෙම කියන්නෙ, දැන් මේ ගහ ගත්තොත් ඒ ගැන පටිච්ච සමුප්පාදයට අනුව කියන්න පුළුවන්ද කියල. ස්වාමීන් වහන්ස, ඒවා ඉතින් වැඩිපුර විස්තර කරන්න පුළුවන්, නමුත් පොඩි වෙලාවකින් විග්‍රහ කරන්න අමාරුයි, ඒ වුනත් කමක් නෑ මම ඔබ වහන්සේට කෙටියෙන් විග්‍රහ කරල දෙන්නම් කියල, වහරක හාමුදුරුවො ගහේ පටිච්ච සමුප්පාදය හරි අපූරුවට විග්‍රහ කරගෙන ගියා.

විනාඩි 15 ක් විතර විස්තර කරගෙන යනකොට එතන තිබ්බ විදුලි එළියට කැලේ ඉන්න ඉපියො, මැක්කො, පළඟැටියො... ආදී සත්තු ඇදිල ඇවිත් මේ හාමුදුරුවො දෙනමගෙ ඇගේ වහන්න ගත්තා, සිවුරෙ හැමතැනම දුවන්න ගත්තා, කන්, නාසය... ආදී තැන්වලත් පොඩි පොඩි සත්තු දුවන්න ගත්තා. මේක ඒ දෙනමටම මහ කරදරයක් වුනා. වහරක හාමුදුරුවොත් මේකට හේතු වෙච්ච කාරණය දැනගත්තා. මමත් අත්දැකීමෙන් මුල ඉඳලම දැනගෙන හිටියෙ. දැන් මේ හාමුදුරුවො දෙනම ළුව කහනවා, අතපය හොල්ලනවා, විදුලි එළියට සත්තු එනව



ගිහි කල දහම් සාකච්ඡාවලට පැමිණි භික්ෂූන් වහන්සේලා පිරිසක් සමග

කියනවා... මේ වගේ විවිධ කතා කිය කිය කොහොම හරි අමාරුවෙන් මේ විග්‍රහය අහගෙන හිටියා.

දැන් මේ හාමුදුරුවො දෙනමට ඉන්නම බෑ. අන්තිමට උන්වහන්සේලා මොකද කළේ, ස්වාමීන් වහන්ස ඔබ වහන්සේ අද මහණ වුනාට මේක විශේෂ ධර්ම දේශනාවක්නෙ, අපි දහම් ගරුත්වය තියන්න ඕන, අපි මෙහෙම ඉන්න එක සුදුසු නෑ කියල කෙලින්ම කිව්වා. එහෙම කියල නැගිටල අන්තිමට අපි සියලු දෙනාටම වඩා පහතම තියෙන ගල් පඩියෙන් තමයි ඉඳ ගත්තෙ. පස්සෙ වහරක හාමුදුරුවො මෙහෙම කිව්වා. නෑ නෑ ඉතින් ප්‍රශ්නයක් නෑ, ඔබ වහන්සේලා කාලයක් තිස්සෙ පැවිදි වෙලා හිටපු අයනෙ, මම අදනෙ මහණ වුනේ, අනික ඉතින් මම අවසරත් අරගෙන ගොඩක් වෙලාවක්නෙ දේශනාව පටන් අරගෙන... ඔය විදිහට උන්වහන්සේලාගේ හිත රිදෙන්නෙ නැතිවෙන්න කතා කළා. උන්වහන්සේලාත් මොකද කළේ, නෑ නෑ අද මහණ වුනා කිව්වට හරියන්නෙ නෑනෙ, අපි දහම් ගරුත්වය තියන්න ඕනනේ කියල අහකට ගිහින් පහලින්ම ඉඳගත්තා. එතකොටම අර කලින් ආපු සත්තු එකෙක්වත් නෑ. මුලින් උන් යන්න එන්න පටන් ගත්තෙ ආං අර කාරණය නිසා.

සාකච්ඡාව අවසානයේ මේ හාමුදුරුවො දෙනම අහනවා, කෝ දැන් අර සත්තු එකෙක්වත් නැත්තෙ ඇයි කියල. එතකොට වහරක හාමුදුරුවොත්, ආ... ඔව් දැන් නම් සත්තු නෑ තමයි කියල කිව්වා. හාමුදුරුවො දෙනම ගියාට පස්සෙ මම කිව්වා, ස්වාමීන් වහන්ස මහ පුදුම වැඩක් නේද වුනේ කියල. එතකොට

වහරක හාමුදුරුවො මෙහෙම කියනවා. ස්වාමීන් වහන්ස මම කිව්වට මගේ මතයක් කිව්ව නෙවෙයිනෙ, විශේෂ දහම් දේශනාවක් තමයි මම කළේ, දේශනාව මෙහෙම කළාට අප්‍රමාණ පිරිස් අහගෙන ඉන්නවා, ඒ විතරක් නෙවෙයි, අපි දහමට කළ යුතු ගෞරවය කරන්න ඕන. දහම ගුරුවරයා හැටියට තියාගෙන දහම් කියාදෙන කෙනා කල්‍යාණ මිත්‍රයා හැටියට සළකගෙන කටයුතු කරන්න ඕන කියන්නෙ ඔය නිසා තමයි. මේ විදිහට උන්වහන්සේ ඊට පස්සෙත් ධර්ම සාකච්ඡාවක්ම තමයි කළේ.

ඒ කාලෙ අපි වැඩිපුරම කතා කළේ සාසන පරිහානිය සහ සාසන පරිවර්තනය ගැන. මොකද ඒ කාලෙ හුඟක් අය කියපු කතාවක් තිබුණා. කොටසක් කියනවා, වෙසක් පෝයට මහ රහතන් වහන්සේලා පහළ වෙනව කියල. තව කොටසක් කියනවා, නෑ... පොසොන් පෝයට මහ රහතන් වහන්සේලා පහල වෙන්නෙ කියල. තවත් කොටසක් කියනවා නෑ... ඇසළ පෝයට තමයි පහළ වෙන්නෙ කියල. ඉතින් මේ ආදී වශයෙන් විවිධ දින වකවානු නියම කරමින් කතා කරනවා. අපිත් ඉතින් හරි ආසාවෙන් රහතන් වහන්සේලා පහල වෙනකල් බලාගෙන හිටියා. නමුත් කිසිම දවසක එහෙම දෙයක් සිද්ධ වුනේ නෑ. ඉතින් බොහෝ දෙනෙක් ඇවිත් අබේරත්න උපාසක මහත්තයට කියනවා, මහත්තය මේ පෝයට වුනේ නැති නිසා ලබන පෝයට නේද සාසන පරිවර්තනය වෙන්නෙ කියල. එතකොට මහත්තය කියනවා, ඔව් ඔව් එහෙම වෙන්න පුළුවන්, සාසන පරිවර්තනය වෙන්න ඉඩකඩ බොහොම වැඩියි කියල.

මම දවසක් මහත්තයත් එක්ක සාකච්ඡා කරන වෙලාවක මෙහෙම ඇහුවා. මහත්තය මේ හුඟ දෙනෙක් කියනවා, අහවල් දවසෙ රහතන් වහන්සේලා පහල වෙනවා... මේ ආදී වශයෙන් නිතර නිතර කතාබහ කරනවා, ඇත්තටම ඔය විදිහෙ සාසන පරිවර්තනයක් වෙන්නෙ කොහොමද? සාසන පරිවර්තනය කියන්නෙ හාමුදුරුවරු උඩින් යන එකද, නැත්නම් ප්‍රාතිහාර්ය පාන එකද? එහෙමත් නැත්නම් මේ කියන සිදුවීම්වල යම් යම් දහම් අර්ථයන් තියෙන්න බැරිද? මොකද ඒ වෙනකොට අපිත් මහත්තයගෙ දහම් දේශනා බොහොමයක් කැසට් පටිවලින් අහල යම් තරමක් දුරට මහත්තය පිළිබඳවත්, දේශනා පිළිබඳවත් වැටහීමක් තිබුණා. මමත් ඉතින් ඔය කාලෙ විවිධ පැති ඔස්සේ යම් යම් දේ පිළිබඳව කරුණු හෙව්වා. ඔය කියපු දින වකවානු පිළිබඳ සොයා බැලීම්වලින් මට තේරුනා, විශේෂ ධර්ම දේශනා නම් ඔය දවස්වල කරල තියෙන බව. නමුත් මට හරියටම කරුණු තහවුරු කරගන්න ඕන නිසා ඒ ගැන මහත්තයගෙන් ඇහුවා. මහත්තය කියනවා, අනේ ස්වාමීන් වහන්ස මොනව කරන්නද මම කියන එක නෙවෙයිනෙ මේ අය තේරුම් ගන්නෙ, තේරුම් කරල දෙන්න අමාරුයි, කවද හරි දවසක තේරෙයි කියල. ඉතින් ඒ ගැන බොහොම දීර්ඝ සාකච්ඡාවක් කළා. හිතන්න බැරි තරම් වටිනා දේශනාවක්.

ඊට පස්සෙ මහත්තය කියනවා, ස්වාමීන් වහන්ස මේ අනිච්ච, දුක්ඛ, අනත්ත තුනෙන් එක වචනයක් හරි ලෝකෙ විද්‍යමාන වෙනව නම්, ඒක යටපත් වෙලා තිබ්ච්ච සාසනයේ නැගිටීමක් කියල. නමුත් අපි හිතන්නෙ හාමුදුරුවරු උඩින් වැඩියොත් ඒක තමයි සාසනයේ නැගිටීම කියල. ඉතින් ඒ වෙනකොටත් ඔය වගේ විශේෂ දහම් කාරණා 6 - 7 ක් විතර මහත්තයගෙ දේශනාවලින් මතු වෙලා තිබුනා. නමුත් සැපේ දුක යටපත් වෙලා තිබුනෙ. මහත්තය ඒක විග්‍රහ කළාට පස්සෙ තමයි අපිත් දැනගත්තෙ, දුක්ඛ ආර්ය සත්‍යය කියන්නෙ මේ සැප වටා හැංගිලා තියෙන දුක ගැන ප්‍රඥාවෙන් දැනගැනීම මිසක්, අපි දැන් මේ කතා කරන වේදනා චෛතසිකයෙන් විඳින දුක නෙවෙයි කියල. එතකොට මේ චතුරාර්ය සත්‍යයේ එක වචනයක් හරි ලෝකයේ ව්‍යාප්ත වෙනව නම් එදාට සාසන පරිහානිය ඉවරයි කිව්වා.

ඉතින් මේ විදිහට ආර්ය මෛත්‍රී භාවනාව, චතුරාර්ය සත්‍යය, පටිච්ච සමුප්පාද ධර්මය, චුති පටිසන්ධි, ත්‍රිලක්ෂණය, සතර සතිපට්ඨානය... ආදී ඉතාම වටිනා දහම් කරුණු මතු කරපු දවස් තමයි විශේෂ සාසන පරිවර්තන විදිහට මහත්තය ඒ දවස්වල ප්‍රකාශ කරල තිබුනෙ. නමුත් අහගෙන හිටපු වැඩි දෙනෙක්, රහතන් වහන්සේලා පහල වෙලා උඩින් යනකල් තමයි බලාගෙන හිටියෙ. මේ වගේ මහත්තය වෙන අදහසකින් කියනකොට, අහගෙන ඉන්න අය තවත් අදහසකින් බාර ගන්නවා. ඉතින් ඒකට මොනව කරන්නද?

(ඉතිරි කොටස ලබන කලාපයෙන්)

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලබා දුන් වටිනා විදසුන් කමටහන් කිහිපයක්...

**1. කෙටියෙන් භාවිතයට**

යම් පුද්ගලයෙක් හෝ සත්ත්වයෙක් හෝ දකින විටම ජරා මරණ පොදියක් කියා සිහි කරන්න පුරුදු වෙන්න. සමූහයක් නම් ජරා මරණ පොදි කියා සිහි කරන්න. එමගින් කාමයෝ දුරු කර යථාවබෝධයට ළඟා කරනු ඇත.

**2. මධ්‍යම භාවිතයට**

සත්ත්වයා පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.
ලෝකය පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.

මමද සියලු සත්ත්වයෝ අසාර වූ ලෝකයට බැඳෙන ඡන්ද රාග මළ පුඩුවෙන් නිදහස් වෙත්වා !

නිදහස් වෙත්වා ! නිදහස් වෙත්වා !
නිදහස් වෙත්වා ! නිදහස් වෙත්වා !
නිදහස් වෙත්වා ! නිදහස් වෙත්වා !
සාධු ! සාධු ! සාධු !

**3. විස්තර සහිතව මුලට මේ කොටස එක් කර වඩන්න.**

ඇස පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.
කන පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.
නාසය පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.
දිව පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.
කය පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.
මන පෙළීම් පිඬකි, දුක් පිඬකි,
ජරා මරණ පිඬකි, අසාරයි.



# චෛතිය පූජාවේ අනුසස්...

01 කොටස

චෛත්‍යය, චේතිය, ස්ථූපය, ථූපය, සෑය, දාගැබ... ආදී වශයෙන් මේ හැම නමකින්ම හැඳින්වෙන්නෙ ලොව්තුරා බුදු, පසේ බුදු, මහ රහත් ආදී උත්තමයන් වහන්සේලාගේ ශාරීරික, පාරිභෝගික ධාතූන් වහන්සේලා තැන්පත් කරල, යම් කිසි ක්‍රම රටාවකට නිර්මාණය කරල, දෙව් බඹුන් මිනිසුන් ඇතුළු සියලු ලෝ වාසීන්ට වන්දනාමාන කරගෙන පින් කෙත් අස්වද්ද ගන්න අවස්ථාව සලසල දෙන පූජනීය සංකේතයක්. මේ කාලය වෙනකොට රටේ ලෝකයේ විවිධාකාරයෙන් චෛත්‍ය හදල පුද පූජා වන්දනාමාන ගෞරව සත්කාර කළත්, ඒ කටයුතු සම්බන්ධයෙන් බොහෝ දෙනෙකුට හරි දහම් අවබෝධයක් නැති නිසා ඒ පිළිබඳව කෙරෙන කෙටි විවරණයක් තමයි මේ.

ලෝකයේ කල්ප ගණනකට පස්සෙ, තව කෙනෙකුට දෙවෙනි නොවන, අසහාය වූ, ප්‍රතිමාවකින් පෙන්වන්න බැරි, තව කෙනෙකුට සමාන වෙන්නෙ නැති, සමාන වෙනව නම් තවත් බුදුවරයන් වහන්සේ නමකට පමණක් සම වෙන, ලෝකයාට සදහම් අමා දීපය ලබා දෙන, අරහං සම්මා සම්බුදු රජාණන් වහන්සේ නමක් අති දුර්ලභව ලෝකයට පහළ වෙනවා.

(ඒක පුග්ගලෝ භික්ඛවේ ලෝකේ උප්පජ්ජමානා උප්පජ්ජති අදුතියෝ, අසහායෝ, අප්පටිමෝ, අප්පටිසමෝ, අප්පටි-භාගෝ, අප්පටි පුග්ගලෝ, අසමෝ, අසමසමෝ, දීපදානං අග්ගෝ කතමෝ.ඒකපුග්ගලෝතථාගතෝඅරහං සම්මා සම්බුද්ධෝ - අ. නි. 1 - 44 පිට)

හතළිස් පස් වර්ෂයක් ලෝකාර්ථ චරියාවේ යෙදුන තථාගතයන් වහන්සේ, කුසිනාරා නුවර මල්ලව රජ දරුවන්ගේ උපවර්තන කියන සල් වනයේ සල් ගස් දෙකක් අතර, උතුරට සිරස හිටින විදිහට පිරිනිවන් මඤ්චකයේ වැඩ සිටියා. එහිදී ධර්ම භාණ්ඩාගාරික ආනන්ද හාමුදුරුවො අහනවා, ස්වාමීනි තථාගත ශරීරය පිළිබඳව අපි මොන විදිහටද පිළිපදින්න ඕන කියල. එතකොට බුදුන් වහන්සේ මේ විදිහට වදාරණවා.

ආනන්දය, ඔබලා තථාගත දේහයට පූජා පැවැත්වීමට කාලය ගත කරන්න එපා. ඔබලා තමන්ට වැඩ පිණිස උත්සාහවන්ත වෙන්න. ප්‍රමාද වෙන්නෙ නැතිව කෙලෙස් තවන වීර්යයෙන්, නිවනට යොමු කළ සිත් ඇතිව වාසය කරන්න. ආනන්දය, තථාගතයන් වහන්සේ කෙරෙහි අතිශයින් පැහැදුනු නැණවත් ක්ෂත්‍රියෝ, බ්‍රාහ්මණයෝ, ගෘහපතියෝ ඉන්නවා. ඔවුන් තථාගත දේහයට පූජා පවත්වයි. (දී. නි. 2 මහා පරිනිබ්බාණ සූත්‍රය - 110 පිටුව)

භික්ෂුව කළ යුත්තේ මොකක්ද කියල තථාගතයන් වහන්සේ මෙතනදි මැනවින් පෙන්වා දීල තියෙනවා. අත්තදත්ත, ධර්මාරාම භික්ෂූන්ගේ කතාවලිනුත් ඒ කාරණය මැනවින් සනාථ වෙනවා. නමුත් සේඛ (රහතන් වහන්සේ හැර ඉතිරි මගඵල ලාභීන්) භික්ෂූන් පවා පරිහානියට පත්වෙන්න හේතු වෙන බව සේඛ සූත්‍රවල පැහැදිලි කරල තියෙනවා. ඒ අනුව වර්තමානයේ සමහර භික්ෂූන් වහන්සේලා, භික්ෂුවගේ භූමිකාව හඳුනා ගන්න බැරිව කම්මාරාමතාවල යෙදෙමින්, පෙරහැර උත්සව පිංකම්වලට පමණක් කාලය යොදවමින්, ගිහියන් විසින් කළ යුතු දේවල් තමන්ගෙ අතට අරගෙන කාලය කා දමමින්, තමන් පැවිදි වෙනකොට දුන්න ප්‍රතිඥාව අමතක කරමින් කටයුතු කරන බව පේනවා.

තථාගත ධර්මය වටහා ගත්ත කියල කටයුතු කරන භික්ෂූන්ගෙ පවා තත්ත්වය මෙහෙම නම්, අනිත් අය ගැන කවර කතාද? බුදුන් වහන්සේ මහා කරුණාවෙන් වදාළ ධර්මය මොකක්ද, මහණකම කෙසේ කළ යුතුද, ඒ සඳහා පරිසරය සකස් කරගන්න ඕන කොහොමද කියන කාරණා ගැන නිවැරදි වැටහීමක් තිබුන නම් මේ වගේ කාර්ය බහුල තත්ත්වයට භික්ෂු ජීවිතය පත් කරගන්නෙ නෑ. අප්ප කිච්චෝ - බාහිර වැඩ කටයුතු අඩු කෙනෙක් වෙන්න ඕන. හැබැයි ඒකෙන් කියන්නෙ නෑ, ඒ වගේ සාසනික වැඩකටයුතුවලට අනුසාසකත්වය දෙන්න එපා කියල. එහෙම අනුසාසකත්වය දෙන ගමන්, ඒවා ගිහියන්ට බාර දීල, තමන්ගෙ වැඩේ කරගන්නයි මුල් තැන දෙන්න ඕන. ඒ නිසා මේ කාරණය මෙහෙම කිව්ව කියල කවුරුවත් හිත් රිදීමක් ඇති කරගන්න අවශ්‍ය නෑ.

ශරීර පූජාව සම්බන්ධව ඉහතින් සඳහන් කරපු ආකාරයට කටයුතු කරන්න ඕන කියල බුදුන් වහන්සේ පැහැදිලි කළාට පස්සෙ, පිරිනිවන් මඤ්චකයේ වැඩ සිටි බුදු රජාණන් වහන්සේගෙන් ආනන්ද හාමුදුරුවො නැවතත් අහනවා, ස්වාමීනී, තථාගත දේහය ගැන කොහොමද පිළිපදින්න ඕන කියල. එතකොට බුදුන් වහන්සේ මෙහෙම වදාරණවා.

ආනන්දය, සක්විති රජ කෙනෙක්ගෙ ශරීරය අලුත් සළුවකින් වෙලනවා. එහෙම වෙලල කපු පුළුන්වලිනුත් වෙලනවා. කපු පුළුන්වලින් වෙලල නැවත අලුත් සළුවකින් වෙලනවා. මේ විදිහට යුගල 500 කින් වෙලල, තෙල් පුරවපු රන් දෙනක තියල වහල, සඳුන් දරවලින් හදපු චිතකයක තැන්පත් කරල ආදාහනය කරනවා. සක්විති රජුගේ ධාතු තැන්පත් කරල හතරමං හංදියක ස්ථූපයක් හදනවා. ආනන්දය, සක්විති රජෙකුගේ ශරීරය සම්බන්ධව කටයුතු කරන්නෙ මේ විදිහට. මේ ආකාරයටම තථාගත දේහය ගැනත් පිළිපදින්න ඕන.

තථාගතයන් වහන්සේගේ ධාතූන් වහන්සේලා තැන්පත් චෛතිය හතරමං හංදියක හදන්න ඕන. යමෙක් ඒ ස්ථානයේ මල් හෝ සුවඳ හෝ වෙනයම් දෙයකින් පුදනව නම්, ආදර ගෞරවයෙන් වන්දනා කරනව නම්, චිත්ත ප්‍රසාදයක් ඇති කරගන්නව නම්, ඒක ඔවුන්ට බොහෝ කාලයක් හිත සුව පිණිස පවතිනවා.

**ආනන්දය, ධාතු තැන්පත් කරල ස්තූප තැනීමට සුදුසු පුද්ගලයන් හතර දෙනෙක් ඉන්නවා. ඒ හතර දෙනා තමයි තථාගත සම්බුදු රජාණන් වහන්සේ, පසේ බුදු රජාණන් වහන්සේ, තථාගත ශ්‍රාවකයන් වහන්සේ සහ සක්විති රජතුමා කියන උතුමන්.**

ආනන්දය, කුමක් නිසා තථාගතයන් වහන්සේ ථූපාර්හ වෙනවද? මේ ඒ භාග්‍යවතුන් වහන්සේගේ ධාතූන් වහන්සේලා නිදන් කළ ස්තූපයයි කියල බොහෝ දෙනෙක් වැඳ පුදාගෙන, චිත්ත ප්‍රබෝධ ප්‍රසාදයක් හෝ ඇති කරගෙන, මරණින් මතු සුගති ස්වර්ග ලෝකයට පැමිණෙනවා. මේ නිසා තථාගතයන් වහන්සේ ථූපාර්හ වෙනවා.

ආනන්දය, කුමක් නිසා පසේ බුදු පියාණන් වහන්සේ ථූපාර්හ වෙනවද? මේ ඒ පසේ බුදු රජාණන් වහන්සේගේ ධාතූන් වහන්සේලා නිදන් කළ ස්තූපයයි කියල බොහෝ දෙනෙක් වැඳ පුදාගෙන මරණින් මතු සුගතිගාමී වෙනවා. ඒ නිසා පසේ බුදුන් වහන්සේ ථූපාර්හ වෙනවා.

තථාගත ශ්‍රාවකයන් වහන්සේ (සෝවාන්, සකෘදාගාමී, අනාගාමී, අරිහත්) ථූපාර්හ වෙන්නෙ කුමක් නිසාද? ආනන්දය, මේ තථාගත ශ්‍රාවකයන් වහන්සේ නමකගේ ධාතූන් වහන්සේලා තැන්පත් කරල හදල තියෙන ස්තූපයයි කියල බොහෝ දෙනා හිත පහදගෙන මේ ජීවිත අවසානයෙන් පසු සුගතියේ උපදිනවා. ඒ නිසා තථාගත ශ්‍රාවකයන් වහන්සේ ථූපාර්හ වෙනවා.

මහ පොළොවට අධිපති, සප්ත රත්නයෙන් (සහජාත ප්‍රත්‍යයෙන් බිහිවන රත්න හතකින්) යුක්ත සක්විති රජතුමා ස්තූප හදන්න සුදුසු පුද්ගලයෙක් වෙනවා. ඒකට හේතුව තමයි, මේ ඒ දැහැමි සක්විති රජතුමාගේ ස්තූපයයි කියල බොහෝ ජනයා හිත පහදවාගෙන සුගතිගාමී වෙන නිසා. ඒ නිසා සක්විති රජ කෙනෙක් ථූපාර්හ වෙනවා.

ධූතාංගධාරී මහා කාශ්‍යප මහ රහතන් වහන්සේ, කුසිනාරාවේ මල්ලව රජ දරුවන්ගේ මකුට බන්ධන කියන චෛතිය ආසන්නයේ, තථාගතයන් වහන්සේගේ චිතකය වෙත වැඩම කරල, සිවුර ඒකාංස කරල ඇඳිල බැඳල තෙවරක් ප්‍රදක්ෂිණා කරල, සිරිපතුල් පැත්තෙන් විවර කරල, භාග්‍යවතුන් වහන්සේගේ සිරිපා තමන් වහන්සේගේ සිරසින් නමස්කාර කළා. එතකොට චිතකයට ගිනි ඇවිලුනා.

දැවෙන්නා වූ බුද්ධ ශරීරයේ සම, සිවිය, මස්, නහර... ආදියේ අළු පේන්නෙ නෑ. දැළි පේන්නෙ නෑ. ශාරීරික ධාතුව ඉතිරි වුනා. ගිතෙල් හෝ තල තෙල් හෝ දැවෙද්දි අළු හෝ දැලි හෝ පේන්නෙ නෑ වගේ, යුගල 500 කින් ශ්‍රී දේහය ඔතපු ඒ සළුවලින් ඇතුලතින්ම හා පිටතින්ම තිබුන සළු දෙක දැවුනෙ නෑ. තථාගත ශ්‍රී දේහය ආදාහනයෙන් පසු, අහසින් දිය දහරා වැටිල චිතකය නිවිල ගියා.

කුසිනාරාවාසී මල්ලවයොත් ජලයෙන් චිතකය නිවල දැම්මා. ඉන්පසු මල්ලවයෝ අඩයටි මැදිරියක් හදල දුනු පවුරකින් වට කරල දින 7 ක් ගැයුමෙන්, වැයුමෙන්, සුවඳින්, සුවඳ මලින් තථාගත ශාරීරික ධාතූන් වහන්සේලාට ගරු සත්කාර බුහුමන් පැවැත්වුවා.

වෛදේහ පුත්ත අජාසත්ත රජතුමා, භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් පෑවයි කියන ආරංචිය අහල, උන්වහන්සේ ක්‍ෂත්‍රිය කෙනෙක්, මමත් ක්‍ෂත්‍රියෙක්, ඒ නිසා මමත් ශාරීරික ධාතු කොටසක් ලබන්න සුදුස්සෙක්, මමත් ධාතු ස්තූපයක් සහ පූජාවක් කරනව කියල මල්ලවයන් වෙත දූතයෙක් යැව්වා. විසාලාවේ ලිච්ඡවීවරුත්, කපිල වස්තුවේ ශාක්‍යයොත්, අල්ලකප්ප රට බූලිවරුත්, රාම ග්‍රාමයේ කෝලියවරුත්, වේඨදීපක බමුණත්, පාවා නුවරවාසී මල්ලවයොත් මේ විදිහට දූතයන් යැව්වා. එතකොට කුසිනාරා නුවරවාසී මල්ලව රජවරු, භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් පා වදාළේ අපේ ගම් සීමාවේ, ඒ නිසා අපි භාග්‍යවතුන් වහන්සේගේ ධාතු කොටස් දෙන්නෙ නෑ කියල කිව්වා. මේ වෙලාවෙ නැණවත් ද්‍රෝණ කියන බමුණුතුමා, ඒ සමූහයාට මේ විදිහට උපදෙස් දුන්නා.

අපේ භාග්‍යවතුන් වහන්සේ ක්‍ෂාන්තිවාදියි, පුරිසෝත්තමයෙකුගේ ධාතු කොටස් සඳහා ඇන කොටා ගන්නව නම් ඒක සුදුසු දෙයක් නෙවෙයි. පින්වතුනි, අපි හැම දෙනාම එකමුතුව සතුටින් සර්වඥ ධාතු අට කොටසකට බෙදමු. හැම දිසාවෙම ස්තූප තනන්න. එයින් තථාගතයන් වහන්සේ කෙරෙහි බොහෝ ජනයා පැහැදීමට පත්වේවි.

මේ විදිහට රජවරු දැනුවත් කළාට පස්සෙ, එහෙනම් බ්‍රාහ්මණය ඔබ භාග්‍යවතුන් වහන්සේගේ ධාතු සමසේ මැනවින් බෙදන්න කියල ඔවුන් ඉල්ලා සිටියා. ද්‍රෝණ බ්‍රාහ්මණතුමා ධාතූන් වහන්සේලා සමානව මැනවින් බෙදල, ධාතු බෙදපු මේ නැළිය මට දෙන්න කියල ඉල්ලා සිටියා. මමත් නැළිය තැන්පත් කරල ස්තූපයක් හදන්නම් කිව්වා. රජවරු නැළිය ද්‍රෝණ බමුණුතුමාට දුන්නා.

පිප්ඵලී වනයේ මෝරියවරුත් භාග්‍යවතුන් වහන්සේ පිරිනිවන් පෑ බව අහල ධාතූන් වහන්සේලා ඉල්ලල දූතයෙක් යැව්වා. එතකොට මල්ලවයෝ, දැන් ධාතූන් වහන්සේලා සියල්ල බෙදල දීල අවසන්, ආදාහනය කළ තැනින් අඟුරු ගෙනියන්න කියල ඉල්ලා සිටියා. ඔවුන් අඟුරු අරගෙන ගියා.

වෛදේහ පුත්ත අජාසත්ත මහ රජතුමා, මගධ රට රජගහ නුවර ශාරීරික ධාතු තැන්පත් කරල චෛත්‍යයක් හදල පූජාවක් කළා. ලිච්ඡවීන් විසාලා නුවරත්, බූලිවරු අල්ල කප්පයේත්, කෝලියවරු රාම ග්‍රාමයේත්, වේඨදීපක බමුණා වේඨදීපයේත්, මල්ලවයෝ පාවා නුවරත්, කුසිනාරාවේ මල්ලවයෝ කුසිනාරා නුවරත්, ද්‍රෝණ බමුණුතුමා සහ මෝරියවරු පිප්ඵලී වනයේත් ස්තූප සහ පූජා උත්සව කළා. මේ විදිහට ශාරීරික ධාතු තැන්පත් කරල ස්තූප 8 කුත්, ධාතු බෙදූ නැළිය නිදන් කරල නව වෙනි ස්තූපයත්, ආදාහනය කළ තැන අඟුරු තැන්පත් කරල අංගාර චෛතියත් වශයෙන් ස්තූප 10ක් ඉදි කළා.

මේ කිසිම කටයුත්තකට එදා වැඩ හිටපු භික්‍ෂූන් වහන්සේලා සම්බන්ධ වුන බවක් සඳහන් වෙන්නෙ නෑ. භික්‍ෂූන්ට ඊට වඩා සුවිශේෂීය කටයුත්තක තියෙන නිසාත්, තථාගතයන් වහන්සේගේ ශරීර පූජාවට උත්සාහ නොවිය යුතු බව වදාරළ තිබුන නිසාත්, නුවණැති ගිහි පිංවතුන් රාජ රාජාදීන් ලෝකයාට පිං සිද්ධ

කරගන්න කරුණා සාසනයට අදාළ ඒ වගේ දේවල් සිද්ධ කළා.

මේ ක්‍රමවේදයන් තෝරගන්න බැරි වීම නිසාත්, සසරේ බියකරු බව දකින්නෙ නැති නිසාත්, තමන්ගෙ මුඛ්‍ය පරමාර්ථය පැත්තකින් තියල, මුළු ජීවිත කාලයම පෙරහැර උත්සව, පිංකම් කරමින්, ගිහි සමාජයටත් වඩා අවිවේකී ජීවිත ගත කරන පිරිසක් බවට අද භික්ෂු සමාජය පත්වෙලා තියෙනවා. ඒ කාරණය, සසුන් ප්‍රතිඵල මතුවෙලා, පරියාත්ති (ධර්ම විනය දෙක), ප්‍රතිපත්ති (ඒ අනුව ත්‍රිශික්ෂාව වැඩීම), ප්‍රතිවේධ (හතර මගඵල) කියන ත්‍රිවිධ කල්‍යාණ සාසනය බබලන්න බාධාවක් වෙලා තියෙනවා. භික්ෂුව නිවන් මාර්ගයෙන් ඉවත් කරන්න සූක්ෂම මාර බලවේග තමන්ටත් නොදැනීම ක්‍රියාත්මක වෙන බව හඳුන ගත්තෙ නැත්නම්, සසුන් කෙතේ ප්‍රතිඵල පිරිහීමට පත්වීම කිසිවෙකුටත් වළක්වන්න බැරි වෙනවා.

සර්වඥ ධාතුන් වහන්සේලා පිළිබඳව විස්තර <u>මහා පරිනිබ්බාණ සූත්‍රයේ</u> මේ විදිහට සඳහන් වෙනවා.

පසැස් ඇති තථාගතයන් වහන්සේගේ ශාරීරික ධාතු ද්‍රෝණ අටයි. එයින් දඹදිව ද්‍රෝණ 7 ක් පුදනවා. එක් ධාතු ද්‍රෝණයක් රාම ග්‍රාමයේ නා රජවරු පුදනවා.

එක් දළඳාවක් දෙවියන් විසින් පුදනවා. එකක් ගන්ධාරයේත්, තව එකක් කළිඟු රාජ්‍යයේත් (දැනට නුවර දළදා මාළිගාවෙ වැඩ ඉන්නෙ කළිඟු රට තිබූ වාම දළදාව) තවත් එකක් නා රජවරු විසිනුත් පුදනවා.

ඒ දළඳා වහන්සේගේ තේජසින් ශ්‍රේෂ්ඨ පූජාවන් පැවැත්වීමෙන් මේ පොළොව අලංකාර වුනා. මේ විදිහට තථාගතයන් වහන්සේගේ ශාරීරික ධාතුන් වහන්සේලාට මැනවින් සත්කාර කළා.

දෙවියන්, නාගයන්, නිරිඳුන් වගේම ශ්‍රේෂ්ඨ මිනිසුන් විසිනුත් පුදන ලද තථාගතයන් වහන්සේට ඇඳිලි බැඳ නමස්කාර කරන්න. බුදුවරයන් වහන්සේලා ලොව අති දුර්ලභයි, පහළ වෙන්නෙ කල්ප ගණනකින්.

පිරිනිවන් පෑ තථාගතයන් වහන්සේගේ ධාතුන් වහන්සේලා අතර ප්‍රධාන ධාතුන් වහන්සේලා 7 නමක් තිබුනා. සතර දළඳාව, ලලාට ධාතුව (නළල් තලය), ග්‍රීවා ධාතුව (බෙල්ලට සම්බන්ධ ධාතුව), අකු ධාතුව. සතර දළඳාව හැර ඉතිරි සියලු දන්ත ධාතු 36, කේශ ධාතු, ලෝම ධාතු එක් එක් සක්වලක් පාසා පිළිවෙලින් දස දහසක් සක්වලට දෙවි දේවතාවන් විසින් රැගෙන ගියා.

ගෞතම බුදු රජාණන් වහන්සේගේ වාම දළඳා වහන්සේ කළිඟු රට වැඩ ඉන්නකොට, මිත්‍යා දෘෂ්ටික රජවරු දළඳා වහන්සේ විනාස කරන්න නොයෙක් උපක්‍රම සිදු කළ බව දාඨාවංශයේ විස්තරවලින් පැහැදිලි වෙනවා. **දළඳා වහන්සේ මඩ වළකට දාල පස් පුරවල ඇතුන් ලවා පෑගුවම, වළ දෙබෑ කරගෙන නෙළුමකින් දළඳා වහන්සේ පිළිගත්තා. ඒ වගේම කිහිරි අඟුරු වළකට දාල පුළුස්සන්න කටයුතු කළාම, අඟුරු නිවිල නෙළුමකින් දළඳා වහන්සේ පිළිගත් බවත්, බුදු රැස් විහිදුන බවත්, කිණිහිරක තියල තලපු අවස්ථාවේ කිසි හානියක් නොවී කිණිහිර තුලට ගිලාබැස්ස බවත්, බුදු රැස් විහිදිලා ආශ්චර්ය පෙන්වූ බවත් දාඨාවංශයේ සඳහන් වෙනවා.** මේ ආශ්චර්යන් දැකපු මිසදිටු රජවරු පවා තථාගතයන් වහන්සේගේ ශ්‍රේෂ්ඨත්වය වටහාගෙන තෙරුවන් සරණ ගිය බවත් සඳහන් වෙනවා.

**ධාතුන් වහන්සේ නමක් ගින්නට දැම්මත් දවන්න පුළුවන් කමක් නෑ. රාගාදී ගිනි නිවුන උතුමන්ගේ අස්ථි ධාතු පවා ගින්නට දැවෙන්නෙ නෑ.** මෑත කාලයේ එක පුද්ගලයෙක් ධාතුන් වහන්සේ නමක්ද කියල පරීක්ෂා කරන්න, පොල් කටු අඟුරු මතට ධාතුන් වහන්සේ නමක් දැම්මම ගිනි අඟුරු නිවිල ගිය බව සඳහන් වෙනවා. ඒ හේතුවෙන් ඒ තැනැත්තා මුළු ශරීරයම දැවෙනවා කියමින් මියයන කල්ම දුක් පීඩාවන් විඳපු බවත් අහන්න ලැබිල තියෙනවා.



**රහතන් වහන්සේලාගේ අස්ථි පවා ආදාහනයෙන් පසු නොදැවී ඉතිරි වූ බවට වර්තමානයෙත් අවස්ථා දෙකකදී දකින්න ලැබිල තියෙනවා.** සුනාමි අවස්ථාවේ පවා දැවැන්ත කොන්ක්‍රීට් ගොඩනැගිලි සුනු විසුනු වෙලා යත්දි, සුළු හානියක්වත් සිද්ධ නොවී බුදු පිළිම නිරුපද්‍රිතව තිබුන බව අපි කවුරුත් දන්නා කාරණයක්. වෙරළ ආසන්නයේ තිබිච්ච පන්සලක් සුනාමියෙන් සම්පූර්ණයෙන්ම මුහුදට ගහගෙන යත්දි, පන්සල ඇතුලෙ අල්මාරියේ තිබිච්ච ධාතු කරඬුව සුනාමියට ගහගෙන යන්නෙ නැතිව නිරුපද්‍රිතව තිබුන බව අහන්න ලැබිල තියෙනවා.

"බුද්ධානං නසක්කා කේනච අන්තරායෝ කාතුං" මේ ලෝකයේ කිසිවෙකුටත් තථාගතයන් වහන්සේ නමකට අනතුරක් කරන්න බෑ. උන්වහන්සේගේ ධාතුන් වහන්සේ නමකටවත් සාසන අන්තර්ධානය වෙලා ධාතු පරිනිර්වාණය සිද්ධ වෙනකල් හානියක් නොවී විරාජමානව වැඩ සිටිනවා. මේ සියලු දෙයින් කියවෙන්නෙ, බුදු රජාණන් වහන්සේගේ තිබූ මහා ආශ්චර්ය.

(ඉතිරි කොටස ලබන කලාපයෙන්...)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346**



# වස විස ආහාරවලට එරෙහි විකල්ප 03

ලෝකයේ රටවල් ගත්තම, මේ හෙළ බිමේ තරම් ඖෂධීය ගුණයෙන්, පෝෂණයෙන් සහ රසයෙන් ඉහල ස්වභාවික ආහාර තිබ්බ්ච වෙනත් රටක් නැති තරම්. පෙර බොදුනුවන් අතර තිබ්බ්ච අධ්‍යාත්මික ශක්තියත් එක්ක යහපත් ජීවන රටාවක්, ආහාර රටාවක් පවත්වාගෙන යමින් සුගතියට, නිවනට මංපෙත් විවර කරගන්නා ක්‍රමවේදයත් ඔවුන් දැනගෙන හිටියා. ලද දෙයින් සතුටු වීමේ ගුණය නිසාම, ගමේ ගොඩේ ස්වභාවිකව වැවෙන දෙයක් කාල බීල, අනවශ්‍ය වියදමකින් තොරව ජීවිතය ගැට ගහගෙන යන්න ඔවුන්ට පුළුවන් වුනා. අද වගේ අනවශ්‍ය දේවල්වලට වියදම් කරන ගමන්, කන්න බොන්න දෙයක් නෑ, අතේ සතේ නෑ කියල අනුන්ට බැන බැන ඉන්න පුරුද්දක් ඔවුන්ට තිබුනෙ නෑ. එහෙම අඳෝනා නැගුවෙ නෑ. තමන්ගෙ වත්ත පිටියෙ තිබ්බ්ච ගහකොළවල ගෙඩි, මල්, කොළ, පොතු, මුල්... මේ හැමදේකින්ම වසක් විසක් නැතිව, අනවශ්‍ය වියදමක් නැතිව යැපෙන්න පුළුවන් ආහාර වට්ටෝරුවක් හදාගන්න තරම් දැනීමක් හැකියාවක් ඔවුන්ට තිබුනා.

එදා තිබ්බ්ච ආහාරවල සීත, උෂ්ණ... ආදී ගුණ අගුණ පවා හරියට දැනගෙන, ඒවා එකිනෙක සමබර කරල ආහාර වේල් සකස් කරගන්න ඔවුන්ට හැකියාව තිබුනා. ඇහැට කනට පේන්න තිබුන ගහකොළකින්, එක මැල්ලුමක් හරි උපරිම පෝෂණ ගුණයෙන් යුක්තව හදාගෙන එදා වේල පිරිවහගන්න තරම් ඔවුන් දක්ෂ වුනා. නමුත් පසුකාලීනව විදෙස් ආක්‍රමණයත් සමගම, අපේ තිබ්බ්ච හෙළ සංස්කෘතික හැදියාවන් යටපත් වෙලා බඩජාරීකමටම ආහාර ගන්න පටන් ගැනීම නිසා, ස්වභාවික දේට පයින් ගහල කෘතීම ආහාර රටාවක් මත යැපෙන පිරිසක් බිහි වුනා. අද ඒකෙ අනිටු ප්‍රතිඵල ඇස් පනාපිටම දකින්න තියෙනවා. මේකට තියෙන එකම විසඳුම තමයි, එදා තිබ්බ්ච ජීවන රටාවට, ආහාර රටාවට නැවත යොමු වීම. ඒ නිසා තවදුරටත් අපෙන් ඈත් වෙමින් තියෙන ඒ යහපත් ආහාර වට්ටෝරු හැකි පමණින් මතක් කර දීමක් තමයි මේ ලිපියෙන් සිද්ධ කරන්නෙ.

**හත් මාළුව කියන්නෙ එදා තිබ්බ්ච පෝෂණ ගුණයෙන් හා ඖෂධ ගුණයෙන් ඉහළ ආහාරයක්.** මගුලට, මළ ගෙදරට එන අයට සංග්‍රහ කරන්න විතරක් නෙවෙයි, සාංඝික දානයටත් එදා මේ හත්මාළුව යොදා ගත්තා. විශේෂයෙන් එදා සිංහල අවුරුදු කාලවල, ඒ වගේම ගමේ ගම් මඩුවක්, තොවිලයක්, පිරිතක්, දානයක් තිබුන නම්, කෑම මේසයේ දකින්න තිබ්බ්ච දෙයක් තමයි හත් මාළුව. මොකද ඒ වගේ අවස්ථාවල මිරිස්, තෙල්, පැණි... ආදිය අඩංගු ආහාර බහුලව අනුභව කරන නිසා වා, පිත්, සෙම් කිපීමෙන් ශරීරයේ අනවශ්‍ය විදිහට රැඳුනු බැඳුනු අපද්‍රව්‍ය ඉවත් කරල දුන්නෙ මේ හත් මාළුවෙන්. ඒකෙන් දින ගණනක් තිස්සේ ගත්ත ආහාරවලින් එන විසමතාවය සමතුලිත කරල දුන්නා. ඒ නිසා ඒ වගේ විශේෂ උත්සව අවස්ථාවක් අවසානයේ ගම්මුන් අතර මේ හත් මාළුව ප්‍රසිද්ධයි.

වචනයෙන්ම කියවෙන විදිහට එළවළු මාළු වර්ග 7 ක් එකට මිශ්‍ර කරල තමයි මේ හත් මාළුව හදාගන්නෙ. අළු කෙසෙල්, කොස් ඇට, මෑ කරල්, වම්බටු, කජු, කිරිඅල, වට්ටක්ක දළු / සාරණ / නිවිති / තම්පලා... වගේ කොළ වර්ගයක්... මේ ආදී වශයෙන් හත් වර්ගයක් එකට මිශ්‍ර කරල කරපිංච, රම්පෙ, කුරුඳු, අබ, සූදුරු, කහ, උලුහාල්, රතු ළූණු, සුදු ළූණු, කොච්චි මිරිස්, මිටි කිරි, දිය කිරි... ආදී වශයෙන් අඩුමකුඩුම එකතු කරල හදා ගන්න මේ හත් මාළුව විවිධ පළාත්වල සුළු සුළු වෙනස්කම් සහිතව පිළියෙල කරනවා.

ශරීරයේ සියලු ඉන්ද්‍රිය පද්ධතිවලට ඇතුල් වෙලා තියෙන විසක් තියේ නම්, ඒ විස බැහැර කිරීමේ විශේෂ ශක්තියක් අළු කෙසෙල්වලට තියෙනවා. කොස් ඇටවලින්, වායුව ඇවිස්සීම හට ගත් විස ශරීරයෙන් ඉවත් කරනවා. මෑ කරල්වලින් ශරීරය සිසිල් කරනවා. ඒ වගේම බඩවැලේ යම් කිසි අජීර්ණ වෙලා තියෙන අපද්‍රව්‍ය තියේ නම් ඒවත් ඉවත් කරනවා. වම්බටුවලින් නැවතත් බඩ පුරවා දැමීම වළක්වනවා, අතිරේකව ශරීරයේ තිබ්බ්ච පෝෂණයන් ඉවත් වෙලා තිබුන නම්, මහ බඩවැලේ ක්‍රියාකාරිත්වයට අවශ්‍ය සංඝටක නැවත ඇදල දෙනවා. කජු අධි පෝෂ්‍යයි. ආහාරවල තියෙන සියලු පෝෂණ කොටස්වල ශක්තිය ශරීරයට ඇදල දෙනවා. ශරීරයේ තියෙන සියලු ආහාරවල ශක්තිය බැහැර නොවී අල්ලල හිටින්න උදව් වෙනවා. ඒ වගේම ප්‍රතිශක්තිකරණය ඇති කරනවා. කිරි අල උෂ්ණ වුනත් ශරීර අභ්‍යන්තරයේ තියෙන තුවාල, වණ... ආදිය සමනය කරනවා. වට්ටක්ක දළුවලින් ආහාර මාර්ගයේ අභ්‍යන්තරයේ තියෙන තුවාල, වණ සනීප කරල, රැඳිල බැඳිල තියෙන අපද්‍රව්‍ය ඉවත් කරනවා. මහ බඩවැල සුද්ධ කරල දෙනවා. මේ විදිහට ගහේ හැදෙන, කඳේ හැදෙන, වැලේ හැදෙන, මලේ හැදෙන, ගෙඩියෙ හැදෙන, ඇටේ හැදෙන, අලේ හැදෙන විවිධ ගුණ තියෙන එළවළු වර්ග 7 ක් එකට

එකතු කරල හත් මාළුව කියල එකක් හදන්නෙ ඔන්න ඔය කාරණා නිසා.

**කුප්පමේණිය** කියන්නෙ ගමේ ගොඩේ විතරක් නෙවෙයි මුහුදුකරයේ, නගරබද පවා පාරෙ තොටේ වැවෙන ඖෂධීය ශාකයක්. මේ කුප්පමේණිය දළු, කොළ ව්‍යංජනයක්, මැල්ලුමක් විදිහට හෝ කැඳක් විදිහට හෝ ආහාරයට ගැනීමෙන් පීනස, ඇදුම, මුත්‍රා අමාරු, සෙම්, වාත රෝග, පණු රෝග, හමේ රෝග, හන්දිපත් ඉදිමුම්, සර්ප විස... ආදී රෝග ගණනාවකට ප්‍රත්‍ය වෙනවා.

**කෝමාරිකා** කියන ශාකය අද බොහෝ කොටම රූපලාවන්‍ය කටයුතුවලට පාවිච්චි කළත්, ඒකෙ තියෙන ඖෂධීය ගුණය නිසාම ආහාරයක් විදිහටත් පාවිච්චි කරන්න පුළුවන්. කෝමාරිකා පානයට අමතරව, කැඳක්, සම්බෝලයක් විදිහටත් හදාගන්න පුළුවන්. මුත්‍රා ගල්, මුත්‍රා දැවිල්ල, පපුවෙ දැවිල්ල, අර්ශස් අමාරු, ආහාර මාර්ගයේ ඌණතා ඇතුළු රෝග රැසකට ප්‍රත්‍යක්ෂ ඖෂධීය ආහාරයක්.

**අක්කපාන** කියන්නෙ කැලේ විතරක් නෙවෙයි, ගෙවතුවල තියෙන ගල් තලා උඩත් බොහොම පහසුවෙන් සුලභව වැවෙන ශාකයක්. විශේෂයෙන් මුත්‍රා ගල් සහ වකුගඩු අමාරුවලට ගුණදායක අක්කපාන කොළ තම්බල පානයක් විදිහටත්, සම්බෝලයක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්.

**වෙල්මුඩ** හෙවත් මුඩුමහණ කියන්නෙ, විශේෂයෙන් වෙල් ආශ්‍රිතව වැවෙන ඉහළ ඖෂධීය ගුණයෙන් යුත් පැළෑටියක්. ගොයම් කපල ටික කාලයක් යනකොට එන ඉපනැල්ලත් එක්කම මේ පැළෑටියේ වර්ධනයත් බොහෝ කොටම දකින්න ලැබෙනවා. මැල්ලුමක් විදිහට අදත් ගම්බද ජනතාව ආහාරයට ගන්න මේ ශාකයේ ඖෂධීය ගුණය ඉතා ඉහළයි. දිවි මකුළු විස, ආමාසයේ ආබාධ, මුත්‍රා රෝග, පාණ්ඩු රෝග... ආදී රෝග ගණනාවකටම ප්‍රත්‍ය වෙන මේ ශාකය විස නැසීමේ බලයෙන් යුක්තයි.

මංමාවත්වල දෙපැත්තෙ, ගණ කැලෑවල බිම් මට්ටමේ, තණබිම්වල... මේ ආදී වශයෙන් හැමතැනම වගේ බහුලව දැකගන්න පුළුවන් තෘණ වර්ගයේ ශාකයක් තමයි මොණරකුඩුම්බිය කියන්නෙ. බොහෝ දෙනෙක් මේ ශාකය හඳුනන්නෙ වල් පැළෑටියක් විදිහට විතරයි. නමුත් **මොණරකුඩුම්බිය** කියන්නෙ ඉතා ඉහළ ඖෂධීය ගුණයකින් යුත් පැළෑටියක්. දරුණු උණ රෝගවලට පවා මොණරකුඩුම්බිය කැඳ වශයෙන් හදල දෙනවා. ඊට අමතරව මුත්‍රාශය, ආහාර මාර්ගය, අක්මාව ආශ්‍රිත රෝග, අජීර්ණ දෝස, ඇස් ආශ්‍රිත රෝග, සෙංගමාලය, පිත් දෝස... ආදී රෝග රැසකට ගුණ දෙන මේ මොණරකුඩුම්බිය කැඳක් වශයෙන්, මැල්ලුමක් වශයෙන් හෝ ව්‍යංජනයක් වශයෙන් හෝ බොහොම පහසුවෙන් ආහාර විදිහට හදාගන්න පුළුවන්.

**හීන්බෝවිටියා** කියන්නෙත් ලංකාවෙ හැමතැනම වගේ විශේෂයෙන් සාමාන්‍ය කැලෑ ආශ්‍රිතව වැවෙන පඳුරු ශාකයක්. මේ ශාකයේ ඉදුනු කුඩා ගෙඩිවල දම් පැහැති මදය පළතුරක් විදිහටත් භාවිතා කරනවා. ඒ වගේම ළපටි කොළ සහ දළු කැඳ වශයෙන්, මැල්ලුමක් වශයෙන් හෝ ව්‍යංජනයක් වශයෙන් හෝ ආහාරයට ගන්න පුළුවන්. උෂ්ණාධික රෝග, රුධිරය ආශ්‍රිත රෝග, අක්මාව ආශ්‍රිත රෝග, ප්‍රතිශක්තිකරණ පද්ධතියේ ඌණතා, සෙංගමාලය, අර්ශස්, දියවැඩියාව... ආදී රෝග රැසකට ගුණදායකයි.

සාමාන්‍ය කැලෑ ආශ්‍රිතව බහුලව හැදෙන **මුස්සැන්ද** කියන ශාකයත් ඉතා ඉහළ ඖෂධීය ගුණයෙන් යුක්ත, ගම්බද ජනතාව එදා ආහාරයට ගත්ත ශාකයක්. මේ ශාකය බොහෝ කොටම කැඳ හදන්න පාවිච්චි කරනවා. ඒ වගේම කොළ මැල්ලුමක් විදිහටත් පාවිච්චි කරනවා. ඊට අමතරව සුදු පාට විසාල මනිපත්‍ර පොල් කිරි මිශ්‍ර කළ හාල් පිටිවල බහා තියල තෙලෙන් බැදල පපඩම් විදිහටත් ගන්නවා. විශේෂයෙන් ළමයින්ගේ ධාරණ ශක්තියට ඒ විදිහට හදාගත්තම ගුණදායක බවත් පැවසෙනවා. සමස්ථයක් වශයෙන් ගත්තම මේ ශාකය සෙංගමාලය, පාණ්ඩුව, හිසේ රෝග, උන්මාද කැරකිලි ගති, ස්නායු රෝග, ඇස් රෝග, ඇදුම, උදරාබාධ, වණ, තුවාල... ආදී රෝග රැසකටම ගුණදායකයි.

**පොල්පලා** කියන්නෙ හැමෝම දන්න ඖෂධීය ශාකයක්. ඒ වුනත් තේ වගේ පානයක් විදිහට විතරයි හුගක් අය අහල තියෙන්නෙ. නමුත් කැඳ වශයෙන්, පලා මැල්ලුමක් වශයෙන් බොහොම පහසුවෙන් හදාගන්න පුළුවන්, රෝග රැසකට ගුණ දෙන ආහාරයක්. මුත්‍රා රෝගවලට විශේෂයි. ඊට අමතරව විස නැසීමේ බලයෙන් යුක්තයි. හන්දිපත් රුදාව, ලේවල ආම්ලිකතාවය නැති කිරීමේ ගුණයෙන් යුක්තයි.

පැෂන් කියන ප්‍රසිද්ධ නමින් හඳුන්වන වැල් දොඩම් හුග දෙනෙක් දන්නෙ පළතුරක් විදිහට විතරයි. නමුත් **මේ ළපටි වැල් දොඩම් කොළවල** තියෙන ඉහළ ඖෂධීය ගුණය නිසාම ආහාරයක් වශයෙන් අතීතයේ පටන් භාවිතා කළා. ඒ නිසා වැල් දොඩම් වැලේ ගෙඩි හැදුනෙ නැතත් අපතෙ යන්නෙ නෑ. පලා මැල්ලුමක්, සම්බෝලයක් විදිහට හදාගන්න පුළුවන්. මානසික ආතතිය, දියවැඩියාව, හදවත් රෝග, පිළිකා, ඇස් රෝග... ආදී රෝග රැසකට ගුණයි.

**වට්ටක්කා දළු** කියන්නෙ ඒ වගේම ඉහළ ඖෂධීය ගුණයකින් යුත් ආහාරයක්. සමහර වට්ටක්ක වැල්වල මල් පිපුනත් ගෙඩි හැදෙන්නෙ නෑ. ඒ වගේ අවස්ථාවල විශේෂයෙන් වට්ටක්කා දළු මැල්ලුමක්, ව්‍යංජනයක් වශයෙන් හදාගන්න පුළුවන්. අම්ලපිත්ත ප්‍රදාහය, පණු රෝග, වකුගඩු රෝග... ආදී රෝග රැසකට ගුණදායකයි. ශරීර ප්‍රතිශක්තිය ඉහළ දැමීමටත් උපකාරී වෙනවා.

**ජපන් බටු** හෙවත් සමහර පළාත්වල සිංගප්පූරු කියල හැඳින්වෙන ශාකයේ ගෙඩි සහ කොළ දෙකම ඉතා ඉහළ ඖෂධීය ගුණයෙන් යුක්තයි. කිසිම කෘමිනාසකයක් හෝ වල්නාසකයක් හෝ යොදන්නෙ නැතිව, ඉතා පහසුවෙන් වත්තපිටියේ හැදෙන මේ ශාකයේ ගෙඩි ව්‍යංජනයක් විදිහටත්, කොළ මැල්ලුමක් වශයෙනුත් ආහාරයට ගන්න පුළුවන්. ඇස් ආබාධ, උණ රෝග, නිරක්තිය... ආදී රෝග රැසකට ගුණදායක මේ ශාකමය ආහාරය ඉහළ ප්‍රතිඔක්සිකාරක ගුණයෙන් යුක්තයි.

**කෙකටිය** කියන්නෙ වැව්, ගංගා, ඔයවල් ආශ්‍රිතව හැදෙන ශාකයක්. මේ ශාකයේ මල්, අල, දඬු වගේම කොළත් ආහාරයට ගන්න පුළුවන්. සීත ගුණයකින් යුක්ත නිසා උෂ්ණාධික රෝග සඳහා සුදුසුයි. ඒ වගේම මුත්‍රාශ්‍රිත රෝග, පිත් රෝග, ආම වාත, අම්ලපිත්ත ප්‍රදාහය, අර්ශස්, හමේ රෝග, තුවාල, වණ... ආදී රෝග රැසකට ගුණදායකයි. කැඳ වශයෙන් හදාගන්නත් පුළුවන්.

**නීරමුල්ලිය, ඉකිරිය** කියන්නෙ කැඳ හෝ පලා මැල්ලුමක් වශයෙන් ආහාරයට ගන්න පුළුවන් පැළෑටි වර්ග දෙකක්. වා පිත් සෙම් රෝග, නාඩි දුර්වලතා, මුත්‍රා ගල්, සෙංගමාලය, හන්දිපත් ඉදිමුම්... ආදී රෝග රැසකට ගුණදායකයි.

සටහන
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# සසර පසුපස එන කර්මය...



**ශ්‍රාවක** : මම යාළුවෙක්ගෙ ගෙදරදි අහපු ධර්ම දේශනාවකදි "කම්මා විපාකා වත්තන්ති - විපාකෝ කම්ම සම්භවෝ - තස්මා පුනබ්බවෝහෝති - ඒවං ලෝකෝ පවත්තතී"කියන ගාථාව අහන්න ලැබුනා. නමුත් කාලය මදි වෙච්ච නිසා ඒ ස්වාමීන් වහන්සේට ඒ ගාථාවෙ තේරුම පැහැදිලි කරල දෙන්න අවස්ථාවක් ලැබුනෙ නෑ. කොහොමහරි උන්වහන්සේ දේශනා කරපු කරුණු අනුව, මේ ගාථාවෙත් ගැඹුරු ධර්මයක් විස්තර වෙන බව තමයි මට වැටහුනේ. මම කැමතියි අද මේ කාරණය ගැන විස්තර සහිතව කතා කරන්න.

**දේශක** : බොහොම හොඳයි ඒ අදහස. හැබැයි ඔබ ස්වාමීන් වහන්සේට කාලය මදි වුනා කිව්ව එක නම් වැරදියි. ඒ ස්වාමීන් වහන්සේට ආරාධනා කරපු ඔබේ යාළුවො උන්වහන්සේට දීල තිබුන වෙලාව මදි කියල කිව්ව නම් තමයි නිවැරදි.

**ශ්‍රාවක** : මම වැරැද්ද පිළිගන්නවා. අපි තමයි ධර්ම දේශනාවලට වෙලාවක් නියම කරන්නෙ. හරිනම් කරන්න තියෙන්නෙ, අවශ්‍ය තරම් කාලයක් අරගෙන ධර්මය කියල දෙන්න කියල ආරාධනා කරන එක. හැබැයි අපි සංවිධානය කරන ධර්ම සාකච්ඡාවලට නම් ඔය ප්‍රශ්නය නැහැ. සමහර ධර්ම සාකච්ඡා උදේ 9.00 ඉඳන් හවස 5.00 වෙනකල්ම තියෙනවා. ඒත් ඉතින් ඔය සෑහෙන පිරිසක් ඇවිත් බණ අහන්නෙ.

**දේශක** : ශ්‍රී සද්ධර්මය ඕන තරම් වෙලාවක් අහන්න උවමනාවක් තියෙන අයට අහන්න පුළුවන්. ඒ වගේම අහන්න අහන්න තව තවත් උනන්දුව වැඩි වෙනවා. ඔය ගාථාවෙ තේරුම සරලව බැලුවොත් මේ විදිහට විස්තර කරල දෙන්න පුළුවන්. කම්මා විපාකා වත්තන්ති කියල කිව්වෙ, අපි කරන ලද කර්මවලට විපාක ලැබෙනවා කියන එක. ඒ කියන්නෙ හොඳ කර්මවලට හොඳ ප්‍රතිඵලත්, නරක කර්මවලට නරක ප්‍රතිඵලත් භුක්ති විඳින්න වෙනවා. විපාකෝ කම්ම සම්භවෝ කියල කිව්වෙ, ඒ ආකාරයට ලැබෙන විපාකවලින් නැවතත් අලුතින් කර්ම රැස් කර ගන්නවා කියන එක. මේ ආකාරයට සිද්ධ කරන මේ වැඩ පිළිවෙල නිසා පුනර්භවයක් සත්ත්වයන්ට ලබාදෙමින්, දිගින් දිගටම ලෝකය පවතිනව කියල තමයි අන්තිමට කියල තියෙන්නෙ.

**ශ්‍රාවක** : විපාකවලින් නැවත කර්ම රැස් කරගන්නෙ කොහොමද කියල විස්තර සහිතව පැහැදිලි කරගත්තොත් වඩා හොඳයි කියල මට හිතෙනවා.

**දේශක**: හොඳයි. ඒක අපි උදාහරණයකින් තේරුම් ගන්න බලමු. හිතන්න යම් අවස්ථාවකදි කිසිම වරදක් නැතිව යම් පුද්ගලයෙක් ඔබට බැන්නොත් මොන වගේ තත්ත්වයක් ඇතිවෙයිද?

**ශ්‍රාවක** : එහෙම නිකරුනේ බැනුම් අහන්නෙ මොකටද? මගේ වැරැද්දක් නැත්නම් මම ඉවසන්නෙ නෑ. මමත් ඉතින් ඒ පුද්ගලයගෙ කට වැහෙන්නම හොඳවයින් දෙක තුනක් කියනවා.

**දේශක** : හරි හරි. හේතුවක් ඇතිව බැන්නත්, නිකරුනේ බැන්නත් කේන්ති ගන්න එක තමයි කවුරුත් කරන්නෙ. නමුත් කලබල නැතිව හොඳින් හිතල බලල කියන්න, ඔබට ඒ ආකාරයට නිකරුනේ බැනුම් අහන්න වෙන්නෙ මොන හේතුවක් නිසාද?

**ශ්‍රාවක** : සමහරවිට මම පෙර කරන ලද හේතුවක ඵලයක් වෙන්න ඇති. මමත් ඉතින් නිකං ඉන්න අයට බැනල ඇතිනෙ.

**දේශක** : ඒ කියන්නෙ පෙර කරන ලද කර්මයක විපාකයක් කියන එක. ඒ ඵල දුන්නෙ පෙර කරන ලද කර්ම විපාකයක් නම්, ඔබ ඒකට කේන්ති අරගෙන බැන්නම මොකක්ද ඒකෙන් වෙන්නෙ?

**ශ්‍රාවක** : කේන්ති අරගෙන බැනල ද්වේශ සහගතව අලුතින් කර්මයක් රැස් කරගන්න එක තමයි සිද්ධ වෙන්නෙ.

**දේශක** : බලන්න වෙලා තියෙන දේ! ඔබට විපාක දුන්නෙත් පෙර කරන ලද අකුසල කර්මයක්. ඒක අල්ලගෙන නැවත රැස් කරගන්නෙත් අකුසල කර්මයක්ම තමයි. ඉතින් අලුතින් කරගන්න අකුසල කර්මයක් කවදාහරි විපාක දෙන්න ඕන නේද?

**ශ්‍රාවක** : හැබෑම තමයි. ඒ විපාක විඳින්න නැවත ඉපදෙන්න වෙනවා. මේ ආකාරයට කරන කර්මවලට විපාක විඳ විඳ නොනැවතී සසර ගමනක් යන එක තමයි අපි හැමෝම කරන්නෙ.

**දේශක** : මේ ක්‍රමවේදය තුල එන්න එන්නම අපිව පහත් තත්ත්වයකට ඇද වැටෙන එක තමයි මේකෙ තියෙන භයානකම කාරණය.

**ශ්‍රාවක** : බේරෙන්න ක්‍රමයක් නැත්ද?

**දේශක** : මේකෙන් බේරෙන ක්‍රම තමයි බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ.

**ශ්‍රාවක** : ඉතිං ඒ වුනාට අපිට කර්ම විපාක නවත්වන්න පුළුවන්කමක් නැනෙ. මම අහල තියෙනවා, බුදු රජාණන් වහන්සේටත් කර්ම විපාක ඵල දුන්න කියල.

**දේශක** : ඔව්. ඒක ඇත්ත. සමහර

කර්ම, විපාක දෙන එක නවත්වන්න පුළුවන්කමක් නෑ. හැබැයි සමහර කර්ම ගෙවා හරින ක්‍රමවේද තියෙනවා. ඒ කොහොම වුනත් විපාකයෙන් නැවත කර්ම රැස් කරන එක නම් නවත්වන්න පුළුවන්.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ අපිට විපාක වශයෙන් එන කර්මවලට මුහුණ දීල ඒවා විඳ දරාගෙන නැවත කර්ම රැස් නොකර, වෙන දෙයක් වෙච්ච දෙන් කියල හැමදේටම ඉවසගෙන ඉන්න එකද?

**දේශක** : එහෙම කළොත් ඉතින් රස්සාවක්වත් කරන්න බැරිවෙනව නේද?

**ශ්‍රාවක** : ඒක ඇත්ත තමයි. ඔය වැඩේ නම් ප්‍රායෝගිකව කරන්න පුළුවන් වැඩක් නෙවෙයි කියලයි මට හිතෙන්නෙ.

**දේශක** : නමුත් ඒ ආකාරයට විපාකවලින් නැවත උප්පත්තියට හේතු වෙන කර්ම රැස් නොකරන උත්තමයින් හිටිය නිසා, ඒක ප්‍රායෝගික නෑ කියල අපිට කියන්න පුළුවන්කමක් නෑ. ඒ සඳහා විශේෂ ක්‍රමවේදයක් තියෙනවා. ඒ අනුව කටයුතු කරනව නම් බැරිවෙන එකකුත් නෑ.

**ශ්‍රාවක** : ඔය කියන්නෙ රහතන් වහන්සේලා ගැන නේද? රහතන් වහන්සේලා කරන දේවල් අපිට කරන්න පුළුවන්ද?

**දේශක** : ඒ සඳහා උත්සාහයෙන් වීර්යෙන් බුදු රජාණන් වහන්සේ පෙන්වා දුන්න ක්‍රමවේදයන් අනුගමනය කරගෙන ගියොත්, ඉදිරියෙදි එහෙම අවස්ථාවක් උදා වේවි. විපාකවලින් කර්ම රැස් කරන එක නවත්වන්න නම්, අපිට බුදු රජාණන් වහන්සේ කර්මය ගැන කියල දීල තියෙන කරුණු කාරණා ගැන දැනගන්න අවශ්‍ය වෙනවා. ඒ ගාථාවෙ සඳහන් ආකාරයට, කර්මවලට විපාක දෙන්නත් විපාකයෙන් කර්ම රැස් කරගන්නත් ප්‍රධාන වන හේතු 6 ක් කියනවා.

**ශ්‍රාවක** : ඒ කියන්නෙ ලෝභ, ද්වේශ, මෝහ සහ අලෝභ, අද්වේශ, අමෝහ ගැන නේද?

**දේශක** : ඔව්. අකුසල මූල හා කුසල මූල කියල පෙන්වල දීල තියෙන්නෙත්, ඒවායින් අකුසල කර්මවලට දුක් විපාකත්, කුසල කර්මවලට සැප විපාකත් ලැබෙන ක්‍රමවේදයම තමයි. ඒක තමයි කම්මා විපාකා වත්තන්ති කියල කියන්නෙ.

**ශ්‍රාවක** : අපි ඉතින් නිතර නිතර පින් දහම් කරන නිසා වැඩෙන්නෙ කුසල මූලයමයි. ඒ නිසා අපිට නම් අයහපතක් වෙන්නෙ නෑ නේද?

**දේශක** : ඔව්. ඔහොම තමයි බොහෝ දෙනෙක් හිතාගෙන ඉන්නෙ. හැබැයි ටිකක් හොයල බැලුවොත් තේරුම් ගන්න පුළුවන්, නිතර නිතර කරන්නෙ කුසල මූලයේ වැඩද නැත්නම් අකුසල මූලයේ වැඩද කියල.

**ශ්‍රාවක** : ඇයි එහෙම කියන්නෙ? උදේ හවස බුදුන් වඳිනවා, හැමදාම හැන්දෑවට ගිලන්පස, බුද්ධ පූජාව තියනවා, පුළුවන් තරම් උපරිම අන්දමින් පන්සිල් රකිනවා, හදිසියෙන් සිල් පදයක් කැඩුනොත් නිතර නිතර සිල් සමාදන් වෙලා ඒවා රකිනවා, හැම පෝයකටම සිල් ගන්නවා. ඉතින් ඒවා කුසල මූලයේ වැඩ නෙවෙයිද?

**දේශක** : ඔබ කියන එක හරි. ඒවා ඔක්කොම හොඳ වැඩ තමයි. ඒ විතරක් නෙවෙයි, දස අකුසලයම නොකර ඉන්න උත්සාහ කරන අයත් ඉන්නවා. දස අකුසලයත් ප්‍රධාන කොටස් තුනකට බෙදල තියෙනවා. ඒ ගැන ඔබ දන්නවද?

**ශ්‍රාවක** : ඔව්. කයෙන් කරන වැරදි 3 යි, වචනයෙන් කරන වැරදි 4 යි, මනසින් කරන වැරදි 3 යි.

**දේශක** : ඔය අතරින් වඩාත්ම බරපතල වැරදි සිද්ධ වෙන්නෙ මොන ආකාරයෙන්ද?

**ශ්‍රාවක** : මට හිතෙන්නෙ නම් මනසින් කරන වැරදි තමයි වඩාත්ම බරපතල වෙන්නෙ. අභිජ්ඣා, දෝමනස්ස, මිථ්‍යා දෘෂ්ටි කියල තමයි ඒ තුන නම් කරල තියෙන්නෙ.

**දේශක** : ඔව්. ඔබ හිතන විදිහ හරි. බරපතල වැරැද්ද වෙන්නෙ මනසින් තමයි. ඒ ගැන උපාලි සූත්‍රයේ විග්‍රහ කරල තියෙනවා. (ම. නි. 2 - 60 පිටුව) මෙතනදි අභිජ්ඣා කියල කිව්වෙ දැඩි කැමැත්ත, දැඩි ආසාව, දැඩි ලෝභය. දෝමනස්ස කියල කිව්වෙ ගැටීමට, කේන්ති යාමට. ඒක දැඩි අකමැත්ත කියලත් හඳුන්වන්න පුළුවන්. ඒකම තමයි ද්වේශය කියන්නෙ.

**ශ්‍රාවක** : මිථ්‍යා දෘෂ්ටිය කියල කියන්නෙ වැරදි දැකීමට නේද? ඒකම නේද මෝහය කියල කියන්නෙ?

**දේශක** : ඔව්. වැරදි දැකීමක් තමයි. කියන්න බලන්න මොනවද මතනදි වැරදියට දැකල තියෙන්නෙ කියල.

**ශ්‍රාවක** : බුදු රජාණන් වහන්සේ දේශනා කරන ලද ධර්මය වැරදියට දැකල තමයි ඔය විදිහට පව් කරන්නෙ.

**දේශක** : ඒක නම් හරියටම හරි. හැබැයි එතකොට බෞද්ධ නොවන අය පව් කරන්නෙ මොකක් වැරදියට දැකලද?

**ශ්‍රාවක** : ඒක නම් ගැලපෙන්නෙ නෑ නේද? මම හිතන්නෙ මම ඔය වැරදි දැකීම කියන්නෙ මොකක්ද කියල හරියටම දන්නෙ නෑ.

**දේශක** : මිථ්‍යා දෘෂ්ටිය දෙයාකාරයි. එකක් දස වස්තුක මිථ්‍යා දෘෂ්ටිය විදිහට හඳුන්වනවා. ඒක සතර අපාගත කරනවා. ඒකෙන් වෙන් වීම ලෞකික සම්මා දිට්ඨිය. ආර්ය විනයේ මේ ලෝකය පිළිබඳව වැරදියට දකින එක තමයි මිථ්‍යා දෘෂ්ටිය කියල කියන්නෙ. ලෝකය කියල කිව්වෙ ඇස, කන, නාසය... ආදී ඉන්ද්‍රියන් මගින් රූප, ශබ්ද, ගන්ධ... ආදිය ස්පර්ශ කරල සැප, දුක්, උපේක්ෂා කියන විඳීම් තුනක් විඳින වැඩ පිළිවෙලට.

**ශ්‍රාවක** : ඇස, රූප, චක්ඛු විඤ්ඤාණය, චක්ඛු සංඵස්සය, චක්ඛු සම්ඵස්සජා වේදනා කියල කියන්නෙත් ඔය කාරණාවට නේද?

**දේශක** : ඔව්. ඔය ආකාරයට ඉන්ද්‍රියන් 6 භාවිතා කරල ලෝකය ඇසුරු කරන වැඩපිළිවෙල තේරුම් ගන්න ඕන.

**ශ්‍රාවක** : දැන් මොකක්ද මතන තියෙන වැරදි දැකීම?

**දේශක** : මේ ආකාරයට ලෝකය ඇසුරු කරනකොට සැප ලැබෙනවා කියන මුළාව නිසා, ඒවා සියල්ලම හරිම වටිනවා, හරිම සාරයි, හරිම අර්ථවත් කියල හිතාගෙන ඇසෙන් රූපත් එක්ක මිත්‍ර වෙලා ඉන්නවා. ඒ වගේම කනෙන් ශබ්දත් එක්ක මිත්‍රයි. නාසයෙන් ගන්ධත් එක්ක මිත්‍රයි. දිවෙන් රසත් එක්ක මිත්‍රයි. කයෙන් පහසත් එක්ක මිත්‍රයි. මනෙන් ධර්මත් එක්ක මිත්‍රයි. ඔය විදිහට මිත්‍ර දෘෂ්ටියක් තමයි ලෝකය සම්බන්ධයෙන් අපට තියෙන්නෙ.

**ශ්‍රාවක** : එතකොට මේ ලෝකයේ රූප, ශබ්ද, ගන්ධ... ආදියත් එක්ක මිත්‍ර දෘෂ්ටියක් තියාගෙන ඉන්න එක තමයි වැරදි දැකීම වෙන්නෙ. නමුත් අපි කවුරුත් මේවා අසුරු කරන එක වැරැද්දක් විදිහට දකින්නෙ නෑනෙ. මට හිතෙන්නෙ ඕකට මිත්‍ර දෘෂ්ටිය කිව්ව නම් තමයි වැඩිය හොඳ. මොකද මිත්‍යා දෘෂ්ටිය කියල යොදාගෙන තියෙන නිසා වටහාගන්න අමාරුයි.

**දේශක** : ඔව්. මිත්‍ර දෘෂ්ටිය කියල යොදාගෙන තිබුන නම්, මොනවටද මේ මිත්‍ර කියලවත් හොයල බලනවනෙ.

**ශ්‍රාවක** : ඒක නම් ඇත්ත තමයි. මාත් මෙච්චර කල් මිත්‍යා දෘෂ්ටිය කියන්නෙ මොකක්ද කියල හරියට දැනගෙන හිටියෙ නෑනෙ. අද තමයි නියම විදිහට දැනගත්තෙ.

**දේශක** : මිත්‍යා දෘෂ්ටිය ගැන නිවැරදිව විස්තර කරල තියෙන්නෙ <u>මිච්ඡා දිට්ඨි පහාන සූත්‍රයේ</u> (සංයුක්ත නිකාය 4 - 291 පිටුව)ඒක බැලුව නම් නිවැරදි අවබෝධය ලබා ගන්න පුළුවන්.

එතනදි විස්තර කරල තියෙන්නෙ ඇස, රූප, චක්ඛු විඤ්ඤාණය, චක්ඛු සම්ඵස්සය, සැප, දුක්, උපේක්ෂා විඳීම් කියන සියලු කාරණා අනිච්ච විදිහට දන්නව නම්, දකිනව නම් මිත්‍යා දෘෂ්ටිය පහ වෙනව කියල. උදාහරණයක් හැටියට ඇසෙන් රූපයක් දකින අවස්ථාවක් අරගෙන බලමු. කර්ම විපාකයක් විදිහට ඔබ ඉතාමත්ම ආසා කරන ප්‍රිය මනාප රූපයක් දකින්න ලැබුනොත් මොන වගේ අදහසක්ද ඇතිවෙන්නෙ?

**ශ්‍රාවක** : එහෙම සුවගෙන දෙන රූපයක් නම් ලෝභකමක් ආසාවක් තමයි ඇතිවෙන්නෙ.

**දේශක** : ඔබ කරන ලද පෙර පිනක ප්‍රතිඵලයක් විදිහට දකින්න ලැබෙන ප්‍රියමනාප රූපයකට ලෝභකමක් හදාගත්තොත්, ඒක කුසලයක්ද අකුසලයක්ද?

**ශ්‍රාවක** : ලෝභ කියන්නෙ අකුසල මූලයක්නෙ. අකුසලයක් හදා ගත්තෙ පෙර කරන ලද කුසලයක විපාකයකින්.

**දේශක** : හොඳයි. අප්‍රිය අමනාප අප්‍රසන්න රූපයක් අකුසල කර්මයක විපාකයක් විදිහට දකින්න ලැබුනොත් මොකක් වෙයිද?

**ශ්‍රාවක** : ඒ වගේ රූපයකට අකමැති නිසා ද්වේශයක් තමයි හටගන්නෙ. ඒ කියන්නෙ අකුසලයක්ම තමයි කරගන්නෙ. දැන් බලනකොට පෙර පිනෙනුත් කරගන්නෙ පවක්, පෙර පවෙනුත් කරගන්නෙ පවක්.

**දේශක** : දැන් තේරුම් ගත්තද විපාකයෙන් කර්ම රැස් කරන වැඩ පිළිවෙලින් අන්තිමට කරගත්තෙ පවක් කියල.

**ශ්‍රාවක** : ඒක තමයි. දැන් කොහොමද මේකෙන් බේරෙන්නෙ. මේ විදිහට කර්මයක් ඵල දුන්නත් මාව පහත් තත්ත්වයටම නේද ඇදගෙන වැටෙන්නෙ?

**දේශක** : ඔව්. ඒ විදිහට තේරුම් ගත්තොත් හොඳයි. හැබැයි බේරෙන්න නම්, බුදු රජාණන් වහන්සේ මේ කර්මය ක්‍රියාත්මක වන ක්‍රමවේදය ගැන කියල දීල තියෙන <u>දස ධම්ම සූත්‍රය</u> (අංගුත්තර නිකාය 6 - 156 පිටුව) ගැන දැන ගන්න වෙනවා. කර්මය ස්වකීයයි, කර්මය දායාදයි, කර්මය යෝනියි, කර්මය නෑයයි කියල විස්තර කරල දීල තියෙන්නෙ ඒ සූත්‍රයෙන්. මේ කරුණු ගැන නොදන්න නිසා තමයි බොහෝ දෙනෙක් අමාරුවේ වැටෙන්නෙ.

**ශ්‍රාවක** : මම නම් දැනගෙන හිටියෙ, හොඳ වැඩක් කළොත් හොඳ විපාකත්, නරක වැඩක් කළොත් නරක විපාකත් ලැබෙනව කියල තමයි.

**දේශක** : ඒක දැනගෙන ඉන්න එකත් ඉතාම හොඳයි. හැබැයි ඉතින් ඒ අනුව ඔබ ක්‍රියාත්මක වුනාද නැත්ද කියල දන්නෙත් ඔබම තමයි. ඔය කාරණාව කියල තියෙන්නෙත් මේ සූත්‍රයේමයි. දැන් බලමු නොදන්න කරුණු කාරණා ගැන. කර්මය ස්වකීයයි කියල කියන්නෙ, තමන්ට ඵල විපාක දෙන්නෙ තමන් කරපු කර්ම විතරයි කියන එක.

**ශ්‍රාවක** : ඒ වුනාට අපේ අය කේන්ති ගියාම කියන්නෙ, මේ අනික් අයගෙ කරුම මට කරගහන්න වෙලා කියලනේ!

**දේශක** : ඔව්. එහෙම කියන අය නම් ඕන තරම් ඉන්නවා. ඒ ඉතින් නොදන්නකම නිසා. තමන්ම කරගත්තුවා මිසක් කාගෙවත් කරුමවලට වෙන කාටවත් කරගහන්න බෑ. කර්මය දායාදයි කියල කිව්වෙ, තමන් කරපු ආකාරයටම විපාක දෙනව කියන එක.



**ශ්‍රාවක** : ඒ ගැන තව ටිකක් විස්තර කරල දෙන්න පුළුවන්ද?

**දේශක** : ඔබේ කිසිම වැරැද්දක් නැතිව බැනුම් අහන්න වෙනව නම්, එහෙම වෙන්නෙ මීට පෙර ඔබත් කිසිම වැරැද්දක් නැතිව අන් අයට බැනල තියෙන නිසා. කරන ලද කර්මයේ ස්වරූපය ඒ ආකාරයටම විපාකයේදිත් විද්‍යමාන වෙනව කියන එක. මේ ගැන ධර්මයේ හොඳින් පහදල දීල තියෙනවා. (<u>සංසප්පනීය පරියාය සූත්‍රය</u> - අං. නි. 6 - 533 පිටුව)කර්ම යෝනි කියල කියන්නෙ, කරන ලද කර්මයට අනුවම ඉපදිලා ඉන්නව කියන එක. අද ඔබ මනුස්සයෙක් හැටියට භවයක් ලබල තියෙන්නෙ මනුස්ස කර්මයක් කරපු නිසා. ඒ කියන්නෙ ඔබේ උප්පත්තියට හේතු වෙච්ච ගතිය මනුස්ස ගතියක්. ඒ නිසා ඔබ අද ලෝකයේ වැඩ කරනකොට, ඒවා මනුස්ස ගතියෙන්ද කරන්නෙ කියල විමසිල්ලෙන් හිටියොත් හොඳයි.

**ශ්‍රාවක** : වැඩක් කරනකොට මගේ ගතිය මොකක්ද කියල මම කොහොමද බලාගන්නෙ?

**දේශක** : ඇයි ඔබ අහල නැත්ද ගති හඬ, ගති ගුණ, ගති රූව කියල ධර්මතාවයන් තුනක් ගැන? ඒවා ක්‍රියාත්මක වෙන්නෙ මේ ආකාරයට. දැන් හිතන්න, ඔබ හා සමානවම අනෙක් අය ගැනත් සාධාරණව හිතල යම් කටයුත්තක නිරත වෙනව නම්, ඒ වෙලාවෙ ගති ගුණය තමයි මනුස්ස ගති ගුණය, ගති හඬ තමයි මනුස්ස ගති හඬ, ගති රූව තමයි මනුස්ස ගති රූව.

**ශ්‍රාවක** : හරි දැන් මට තේරුනා. එහෙම වෙලාවට තමයි අපි කියන්නෙ ඔහු ළඟ මනුස්සකම තිබුන කියල. සමහරවිට අපි, හිත හොඳ මනුස්සයෙක් කියලත් කියනවා.

**දේශක** : ඒ වගේම තමයි යම් කටයුත්තකදි ඔබ අන් අයගෙ යහපත ගැන වැඩිපුර හිතනව නම්,

ඒ වෙලාවෙ ගති ගුණයත් දේව, ගති හඬත් දේව, ගති රුවත් දේව.

**ශ්‍රාවක :** එහෙම වුනාම තමයි සමහරු කියන්නෙ, ඒ මනුස්සයා මට දෙවියෙක් වගේ ඇවිත් පිහිට වුනා කියල.

**දේශක :** ඒ වගේම ඔබ අන් අයට හිංසාවක් පීඩාවක් කරන වෙලාවෙදී ඔබේ ළඟ තියෙන්නෙ යක්ෂ ගුණ (ගතිය), යක්ෂ හඬ, යක්ෂ රුව. එහෙම වෙලාවල් ඔබත් අත්දැකල තියෙනව නේද?

**ශ්‍රාවක :** හොඳටම කේන්ති ගියාම එහෙම තමයි. ඔය සමහරු කියන්නෙ යකෙක් වගේ ඇඟට කඩාගෙන පැන්න කියල. දැන් මෙතනදී මට කරන්න තියෙන්නෙ, හැම තිස්සෙම මම වැඩක් කරනකොට ඒක මනුස්සද කියල පරීක්ෂා කරල බලන එක. ඒක දේව වුනත් ප්‍රශ්නයක් නෑ නේද?

**දේශක :** හරියටම හරි. අඩුම තරමින් තමන් හා සමානවම අන් අය ගැනත් හිතල කටයුතු කරනව නම් හොඳටම ඇති. වැඩිපුර අන් අය ගැන හිතල කටයුතු කරනව නම් වඩාත් හොඳයි. ඒ වෙලාවට ඔබ ඉන්නෙ දේව ගතියක. ප්‍රඥාවෙන් කටයුතු කරනවනම්, අකුසල කර්මයක් ඵල විපාක දෙන වෙලාවකදී වුනත් කුසල කර්මයක් රැස් කරගන්නත් පුළුවන්.

**ශ්‍රාවක :** දැන් ඒ සියලු කාරණා තරමක් දුරට තේරුම් ගත්තා. හැබැයි ප්‍රඥාවෙන් කටයුතු කරල අකුසල කර්මයක් ඵල විපාක දෙන වෙලාවකදී, කුසල කර්මයක් රැස් කරගන්න ක්‍රමවේදය උදාහරණයකින් පහදල දුන්නොත් තමයි හොඳටම තේරුම් ගන්න පුළුවන් වෙන්නෙ.

**දේශක :** හරි. උදාහරණයක් හැටියට ඔබට කවුරුහරි කිසිම වැරැද්දක් නැතිව බනිනව කියල හිතමු. එතකොට ඔබ පළමුවෙන්ම කල්පනා කරන්න ඕන, කර්මය ස්වකීයයි කියල කියපු කාරණාව ගැන.

**ශ්‍රාවක :** මේ මට පළ දෙන්නෙ මම කරපු කර්මයක්ම තමයි. මමත් ඉතින් මීට කලින් වැරැද්දක් නැතිව මිනිස්සුන්ට බැනල තියෙන නිසා තමයි මට අද මේ විපාක ලැබෙන්නෙ කියල හිතුව නම් හරි නේද?

**දේශක :** හරි. එතකොට ඔබ කර්ම දායාදයි කියන එක ගැනත් හිතල ඉවරයි. ඊළඟට කර්ම යෝනි කියන කාරණය. ඒ කියන්නෙ දැන් ඔබ කටයුතු කරන්න ඕනඅඩුම තරමින් මනුස්සයෙක් හැටියට මනුස්ස ගතියකින්.

**ශ්‍රාවක :** ඒ කියන්නෙ මම මං ගැන වගේම, ඒ වෙලාවෙ මට බනින පුද්ගලයා ගැනත් හිතන්න ඕන කියන එකනෙ. හැබැයි ඔහු දැන් මේ වෙලාවෙ කරන්නෙ මට බැනල පවක් සිද්ධ කරගන්න එකනෙ.

**දේශක :** ඔව්. ඒක ඇත්ත. ඒත් අද ඔහු ඔය විදිහට පවක් කරගන්නෙ, පෙර ඔබ අන් අයට බැනල කරගත්ත අකුසලය නිසා. පෙර ඔබ ඔය අකුසලය කරල තිබුනෙ නැත්නම් අද ඔය කර්මයට අදාල විපාකය ඇතිවෙන්නෙ නෑ. එතකොට ඔබේ වරදක් නිසයි අද ඒ මනුස්සයා පවක් කරගන්නෙ. ඒ අනුව කල්පනා කළොත්, දැන් ඒ ඔබට බනින මනුස්සයා ගැන හිතෙන්නෙ මොනවද?

**ශ්‍රාවක :** මට ඔහු ගැන අනුකම්පාවක් තමයි ඇතිවෙන්නෙ. අපරාදෙ මං නිසා ඔහු අමාරුවෙ වැටුන නේද කියල. ඔහුට යම් උදව්වක් කරල මේ පවෙන් බේරගන්න ක්‍රමයක් නැත්ද?

**දේශක :** අන්න හරියටම හරි. එහෙම හිතුන නම් දැන් ඔබට කරන්න තියෙන්නෙ අර බනින කෙනාට මෙත් වඩන එක. මේ වෙලාවෙ ඔහුට ධර්මය කියල දෙන්න විදිහක් නෑ, ඔහු යම් හේතුවකට කේන්ති අරගෙන බැන බැන ඉන්න නිසා.

**ශ්‍රාවක :** මෙච්චර කල් මට කවුරුහරි හේතුවක් ඇතිව බැන්නත්, නැතිව බැන්නත් කේන්තියක්ම තමයි හිතට ආවෙ. හැබැයි මෙහෙම කල්පනා කරල බැලුවොත් නම් කිසිම කේන්තියක් එන්නෙ නෑ. අනුකම්පාවක් තමයි එන්නෙ. හරිම පුදුම ක්‍රමවේදයක්නෙ බුදු හාමුදුරුවො කියල දීල තියෙන්නෙ. මෙච්චර කල් අපිට ඉවසන්න කියල කියනවා, ඉවසීමෙන් සැනසීම ලැබෙනවා කියලත් කියනවා. ඒත් කවුරුත් ඉවසීමෙන් සැනසීම ලබාගත්ත ක්‍රමවේදය කියල දුන්නෙ නෑනෙ.

**දේශක :** ඕකට කාටවත් දොස් කියල හරියන්නෙ නෑ. ඔබ ත්‍රිපිටකය කියෙව්ව නම් හරි. එතකොට ඔබ බුදු රජාණන් වහන්සේ පෙන්වා දීල තියෙන ලෝකයේ ඇත්ත දකිනවා. මෙතනදී ඇත්ත තමයි පෙන්වා දීල තියෙන්නෙ. ඇත්ත දකින්න ඉස්සෙල්ලයි, ඇත්ත දැක්කට පස්සෙයි තියෙන වෙනස සංසන්දනය කරල බලන්න.

**ශ්‍රාවක :** මීට කලින් නම් මට කවුරුහරි බැන්න ගමන් හොඳටම කේන්ති ගන්නවා. ඒ කියන්නෙ ඒ වෙලාවෙ ද්වේශ, මෝහ කියන අකුසල මූල්වල තමයි ඉඳල තියෙන්නෙ. නමුත් මේ ක්‍රමය අනුව කල්පනා කරල, කරුණාවක් දයාවක් අනුකම්පාවක් උපදවා ගත්තොත් අලෝභ, අද්වේශ, අමෝහ කියන කුසල මූලයන්වල තමයි ඉන්නෙ. මෙතනදී මට ඵල දුන්නෙ අකුසල කර්මයක් වුනත්, මම අනුකම්පාවක් දයාවක් උපදවා ගන්න නිසා අලුතින් රැස් කරගන්නෙ කුසල කර්මයක්. ඒ නිසා විපාකෝ කම්ම සම්භවෝ කියන ක්‍රමවේදයෙන් මම අයහපතක් කර ගත්තෙත් නෑ.

**දේශක :** ඔබ සියල්ල හොඳින් තේරුම් අරගෙන තියෙනවා. මේ අවස්ථාවෙදීම ඔබට ඵල විපාක දුන්න අකුසල කර්මයෙන් නැවත අකුසල කර්මයක් රැස් කරගත්තෙ නෑ. හැබැයි මේ තත්ත්වය ඇති කරගන්න නම් ප්‍රඥාවෙන් කටයුතු කරන්න වෙනවා.

**ශ්‍රාවක :** මේ ආකාරයට කර්මය පිළිබඳව දැනගන්න කලින් මමත් හිටියෙ කර්මය හතුරෙක් කරගෙන. මොකද මම අකුසල විපාකයෙන් රැස් කරගත්තෙ තවත් අකුසල කර්මයක්මයි. නමුත් මේ ආකාරයට කර්මය ස්වකීයයි, දායාදයි, යෝනියි, නෑයයි කියල දේශනා කරල තියෙන සත්‍යය අවබෝධ කරගෙන, ඒ අනුව ප්‍රඥාවෙන් කටයුතු කළොත්, වචනයේ පරිසමාප්ත අර්ථයෙන්ම ඉවසීමෙන් සැනසීම ලබාගන්න පුළුවන් වෙනවා.

**දේශක :** හැබැයි මෙතනදී නිවන් දකින වැඩ පිළිවෙලට යන්න නම් ඔය ටික විතරක් කරල හරියන්නෙ නෑ. මේ ආකාරය තේරුම් ගත්තම ඔබ විසින්ම කරගන්නා අකුසල කර්ම රැස් කර ගැනීම්වලින් නිදහස් වුනත්, මුළු තිස් එක් තලයෙම උප්පත්තියට හේතුවෙන කිසිම කර්මයක් ජනිත කරගන්නෙ නැතිව ඉන්න ක්‍රමවේදයත් තේරුම් ගන්න අවශ්‍යයි. ඒ ගැනත් අපි ඉදිරි දවසකදී කතා කරමු. ඔබට තෙරුවන් සරණයි.

සටහන

**විද්‍යාවේදී ඒ. එම්. ධනරත්න අල්විස්**
**පැපිලියාන**
**071 2736623**



# සමාධිමය අත් බෙහෙත්...

චරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක සිටියදී සමාධියෙන් මතු කරගත් තවත් ප්‍රත්‍යක්ෂ අත් බෙහෙත් කිහිපයක් ඔබගේ ප්‍රයෝජනය සඳහා මේ විදිහට සටහන් කරනවා.

## තදබල සෙම ඇවිස්සීම් සඳහා

1. පාවට්ට ගහේ කොළ, දළු, මල්, මුල්, පොතු, සියඹලා ගහේ පොතු, බැබිල මුල්, සුදු ළූණු. මේවා කලං එකහමාර බැගින් අරගෙන වතුර පත 8 එකට හිඳගෙන උදේ හවස අනුපානයට දුඹුරු සීනි සහ මී පැණි දමා බොන්න. වඩි 9 යි, දින 9 යි.

(සීනි ගන්න කියල තියෙන හැම අවස්ථාවකදීම දුඹුරු සීනි ගන්න කියල සඳහන් කරන්නෙ, විරංජන කාරක යොදල සීනි සුදු කරනකොට එකතු වෙන විස නිසා. ඒ නිසා ලංකාවේ දේශීය වශයෙන් නිපදවන දුඹුරු සීනි නිෂ්පාදනම හොයල බලල ගන්න සැළකිලිමත් වෙන්න.)

## සෙම් ගෙඩි සඳහා

2. ඇඹුල් දොඩම් ගෙඩි 3 ක් මිරිකා පෙරා ගත් ඉස්ම, තිප්පිලි කලං 2 යි, සුදු ළූණු කලං 4 යි, ගම්මිරිස් කුඩු කලං 2 යි, පෙරුම්කායම් කුඩු කලං 2 යි, තල් සූකිරි කලං 8 යි.

වැල්මී කලං 12 ක් අරගෙන වතුර පත 8 ක් දමා එකට හිඳගන්න. හිඳ ගත් වැල්මී පත 1 ඉහත බේත් ද්‍රව්‍ය සමග අඹරගෙන මැටි මුට්ටියකට දමා මඳ ගින්නේ විනාඩි 10 ක් රත් කරන්න. චූර්ණයක් විදිහට එන මේ බෙහෙත හොඳින් වියළි බෝතලයක දමා උදේ, දවල්, රාත්‍රී කෑමට පසු තේ හැඳි 1 බැගින් බෙහෙත අවසන් වෙනකල් ගන්න.

(මේ බෙහෙත පාවිච්චි කිරීමෙන් තදබල සෙම් ගෙඩි තිබුන රෝගීන් සුවපත් වෙලා තියෙනවා. විශේෂයෙන් සෙම් ගෙඩි නිසා සැත්කම්වලට භාජනය කරන්න හිටපු රෝගීන් පවා සුවපත් වෙලා තියෙනවා.)

3. වියළි ඉඟුරු, තිප්පිලි සමව අරගෙන මී පැණියෙන් අඹරගෙන කෝපි ගෙඩි තරමට ගුලි කරල තියාගෙන උදේ, රාත්‍රී 1 බැගින් දින 18 ක් ගන්න.

## සෙම් අමාරු සඳහා

4. තල් සූකිරි කලං 2 යි, මී පැණි අවුන්ස 1/2 යි, සුදු ළූණු කලං 4 යි, ගම්මිරිස් කලං 2 යි, තිප්පිලි කලං 4 යි, පෙරුංකායම් කලං 1/2 යි.

මේ සියල්ලම අඹරගෙන ඇඹුල් දොඩම් ගෙඩි 2 ක ඉස්ම සමග කලවම් කරල තියාගෙන උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු තේ හැඳි තුන් කාල (3/4) බැගින් ගන්න. දින 6 යි.

## සෙම්, පිත් අමාරු සඳහා

5. පොල් කැබලි අඟුරු වන පමණට පුච්චාගෙන ග්‍රෑම් 200 යි, තිප්පිලි කලං 4 යි, වැල්මී කුඩු කලං 8 යි, එළඟි තෙල් අවුන්ස 2 යි, තල් සූකිරි ග්‍රෑම් 30 යි, කිතුල් පැණි බෝතල් 1/8 යි, දේශීය දෙළුම් ගෙඩි 2 ක් ලෙලි සමග කැබලි කපා කොටා මිරිකා ගත් ඉස්ම පත 1 යි.

මේ සියල්ලම එකට අඹරගෙන මඳ ගින්නේ කල්ක පදමට හිඳගෙන උදේ, දවල්, රාත්‍රී ආහාරයට පසු මේස හැඳි 1 බැගින් බෙහෙත අවසන් වෙනකල් ගන්න.

6. අරළු, සුදුරු, රතු ළූණු, දිය තිප්පිලි කලං 3 බැගින් අරගෙන වතුර පත 8 එකට හිඳගෙන උදේ, හවස අනුපානයට දුඹුරු සීනි, මී පැණි දමා බොන්න. වඩි 9 යි, දින 9 යි.

(සැ. යු. :- පසුගිය කලාපයේ සඳහන් කළ අංක 1, 2, 14, 30, 34 බෙහෙත් වට්ටෝරුවල අමුද්‍රව්‍ය විදිහට හීන් නාරං පොතු, දෙහි පොතු, ඇඹුල් දොඩම් පොතු, නස් නාරං පොතු, වැල්දෙහි පොතු, උගුරැස්ස පොතු... ආදී වශයෙන් පොතු කියල සඳහන් කරල තිබුනෙ ඒ ඒ ගස්වල පිටපොත්ත බව සළකන්න.)

සටහන

**නීතිඥ චන්දන සිරිවර්ධන**



හෙළ බස නොදත් පිංවතුන් සඳහා වෙන්කළ අතිරේක පිටු 4 කි.

# Deeds & results (karma & vipäka)

03

OUR JOURNEY IN SANSÃRA...

In the previous issue we introduced deeds & results as one of the most fundamental tenets of Buddhist philosophy. The Lord Budhdha, having understood in its entirety the mechanism behind how sentient beings commit deeds (karma) and how these deeds bring forth results (vipäka) given the right conditions, expounded this doctrine to all worldly beings. Consequently we are able to make use of this knowledge to make volitional choices about how we conduct our actions, speech and thoughts, and therefore influence the degree of comfort or hardship we must endure which come to us as rewards for or consequences of our wholesome and unwholesome deeds respectively.

In the previous issue we discussed three types of deeds which have the potential to result in rebirth. These abhisankära Dhammas are meritorious deeds (punya abhisankära), immoral deeds (apunya abhisankära) and cultivation of immaterial jhanas (äninja abhisankära). In this issue we will look at the first seven of the ten meritorious deeds.

**Charity (dhänaya)**

There is no other meritorious deed which the Lord Budhdha himself praised more than charity. This is because to perform the act of giving one must be able to muster courage to let go of something or someone in their possession at least temporarily and the quality of letting go is the direct opposite of attachment (thanhä) which binds a being to the cycle of rebirth (sansära). Therefore practicing giving is an excellent method to introspect one's level of attachment towards oneself as well as other living or non-living things. If the thought of giving something up or someone away tugs at one's heartstrings however subtle the tension might be, this is a fairly reliable indicator that attachment exists towards them.

Charity comes in all shapes and forms and despite the inferred connotations conveyed by the Sinhala word dhänaya due to its most common usage, is not confined to offering items of food. Whether lending a household item to a neighbour, donating one's lifelong earnings to a charity organisation, or perhaps volunteering a few hours a week at a care home for the elderly, there are virtually infinite opportunities for someone who wishes to engage in charity. As we discussed at length in the previous issue, where charity is performed with one's thoughts based in the wholesome roots, it has the potential to reward with both material comforts as well as the company of kind and generous people.

The Sinhala term dhänaya (දානය) is derived from the phrase දීමේ න්‍යාය (pronounced "dheeme nyaya"), which has the literal meaning "the principle of giving". Throughout our infinitely long journey in sansära we have been at the mercy of many countless beings and in receipt of their charity. This may not only be material objects of some value but also in the form of help, support or assistance. If we have not had the opportunity to repay them in return, then we are in their debt. Nature has a way of bringing together debtors and creditors so that these sansäric debts can be settled.

On one occasion the Lord Budhdha was going round for alms with venerable Käshyapa Maha Thera following some distance behind Him. Ven. Käshyapa had some resemblance to the Lord Budhdha and people often mistook one for the other. A local woman who was longing to offer some sweet cakes (පැණි කැවුම්) to Ven. Käshyapa saw the Budhdha approaching and having mistaken Him for Ven. Käshyapa placed the cakes in His alms bowl and the Budhdha continued on his way. However a few moments later when Ven. Käshyapa approached, the woman soon realised her mistake and ran after the Budhdha to retrieve her offering. The Lord Budhdha in His infinite compassion determined the woman should only be able to see the cakes she had offered in the alms bowl and nothing else, as if she were to take anything else she would have committed a sin by taking something which was offered to the Budhdha. The Budhdha then reflected on why He who had perfected charity like no other being did not have cause to receive this offering. When He looked back at His infinitely long journey in sansära, He realised that for all the charity He had done, not

